# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා

ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජයභූමිය රම්‍යා

අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා

පිළිගනු මැන අප භක්ති පූජා

නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා

ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති

ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ

ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ

නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා

ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජයභූමි කරා

එක මවකගෙ දරු කැල බැවිනා

යමු යමු වී නොපමා

ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා

අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමගම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී. එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්.ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්.ජී.ඩී.එන්.එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අනුශාසකත්වය**

අතිඋතුම් දේව ධර්මාචාර්ය ඔස්වල්ඩ් ගෝමිස් අගරදගුරු හිමිපාණෝ (විශ්‍රාමික)

අතිඋතුම් දේව ධර්මාචාර්ය මැක්ස්වල් සිල්වා රදගුරු හිමිපාණෝ

අතිගරු දයා වැලිකඩආරච්චි පියතුමා

**සංස්කාරක මණ්ඩලය**

අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා -ජාතික අධ්‍යක්ෂ, කතෝලික ධර්මෝපදේශ මධ්‍යස්ථානය, කොළඹ 08

ගරු ඩී.එම්.ඩී.ඒ. ජූඩ් සී. දසනායක පියතුමා - බාහිර කථිකාචාර්ය, වයඹ ජාතික අධ්‍යාපන විද්‍යාපීඨය, බිංගිරිය

ගරු එම්.ජී.එල්. ප්‍රනාන්දු පියතුමා - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂක,
ආගම් හා සාරධර්ම අංශය,
අධ්‍යාපන අමාත්‍යාංශය

ගරු ඒ. ආර්. එල්. ශාන්තිකුමාර් පියතුමා - කථිකාචාර්ය, ඇක්වයිනාස් විශ්වවිද්‍යාලය,
කොළඹ 08

**ලේඛක මණ්ඩලය**

ගරු මේරි නිමල්කා පැවිදි සොයුරිය - ගුරු වෘත්තිය, සාන්ත ජෝශප් පිරිමි
විදුහල, නුගේගොඩ

එස්.ජී.කේ.ඩී.එල්.සී. ප්‍රසාද් - නියෝජ්‍ය විදුහල්පති,
බප/කො/ද ලාසල් ම.වි.
මෝදර, කොළඹ 15

මරිනි ධම්මිකා පෙරේරා - ගුරු උපදේශිකා, කොට්ඨාස අධ්‍යාපන
කාර්යාලය, උතුරු කොළඹ කොට්ඨාසය,
මාළිගාවත්ත, කොළඹ 10

| | |
|---|---|
| දුෂ්මන්ති දයා කුමාරි ද සිල්වා | - ගුරු, උපදේශිකා, කලාප අධ්‍යාපන කාර්යාලය, මිනුවන්ගොඩ |
| ඩබ්.කේ.එම්.අයි.එස්.කේ. ප්‍රනාන්දු | - ගුරු උපදේශිකා (විශ්‍රාමික) |
| බී. අයි. ජෝශප් | - ගුරු උපදේශිකා, කලාප අධ්‍යාපන කාර්යාලය, මීගමුව |
| ජේ. ෆිලෝමින් | - ගුරු උපදේශිකා, කලාප අධ්‍යාපන කාර්යාලය, මඩකලපුව |
| ඒ.කේ.එස්. ඒන්ජල් මේරි | - ගුරු වෘත්තිය, (විශ්‍රාමික) |
| ආර්. ජොන්ස්ටන් හැරල්ඩ් | - ගුරු වෘත්තිය, රාමනාදන් හින්දු බාලිකා විදුහල, කොළඹ 04 |
| ටී. අයි. රංගනායගම් | - ගුරු වෘත්තිය, සාන්ත අන්තෝනි බාලිකා මහා විදුහල, කොල්ලුපිටිය |

**භාෂා සංස්කාරක**

| | |
|---|---|
| වයි. ප්‍රීති නීලමනි පුෂ්පමාලා විමලසිරි | - ගුරු උපදේශිකා (සිංහල) කලාප අධ්‍යාපන කාර්යාලය, ශ්‍රී ජයවර්ධනපුර, බත්තරමුල්ල |

**පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය**

| | |
|---|---|
| එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි | - අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

**පිටකවරය**

| | |
|---|---|
| එල්. ඒ. සඳුනි නිලංකා පත්මසිරි | - අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව |

# පටුන

# හැඳින්වීම

කතෝලික ධර්මය ශුද්ධ බයිබලය සහ සභා සම්ප්‍රදාය මත පදනම් වී ඇත. එනම් ශුද්ධ බයිබලය සහ සභා ඉගැන්වීම් එහි අත්තිවාරම ය. මෙම පෙළපොත සම්පාදනය කිරීමේ දී ශුද්ධ බයිබලය සහ කතෝලික සභා ධර්මෝපදේශය පදනම් කොටගෙන ඇත. කතෝලික සභා ධර්මෝපදේශය තුළ සම්ප්‍රදායයෙන් එන ශු. සභාවේ නිල ඉගැන්වීම් ආවරණය කර ඇත.

මෙම පෙළපොතේ තේමා පහක් මත පාඩම් 25ක් අඩංගු වී ඇත. පළමු තේමාවෙන් ශුද්ධ බයිබලය පිළිබඳ අවබෝධය ද දෙවන තේමාවෙන් දේව අනාවරණයට ප්‍රතිචාර දක්වමින් විශ්වාසයේ ජීවිතයක් ගත කිරීම ද, තුන්වන තේමාවෙන් දේව ප්‍රසාද නිධාන මගින් ක්‍රිස්තුන් වහන්සේට සම්බන්ධ වී නව ජීවිතයකට සාක්ෂි දැරීම ද හතරවන තේමාව මගින් දේව පනත් පිළිපදිමින් ප්‍රේමයේ ජීවිතයක් ගත කිරීම ද පස්වන තේමාව මගින් යාච්ඤාවෙන් පෝෂණය ලබා දෙවියන් වහන්සේ සමග ද මනුෂ්‍යයා සමග ද ගැඹුරු සම්බන්ධතාවක් ගොඩ නගා ගැනීම පිළිබඳ ව ද සාරවත් කරුණු විස්තර කර ඇත.

ඔබේ ප්‍රසාද ස්නාපනීය කැඳවීම තුළ ආරම්භ කළ විශ්වාසයේ ජීවිතයට සාක්ෂි දරන්නට ආධ්‍යාත්මික පෝෂණය ලැබෙන ඉගෙනුම් ඉගැන්වීමකට ඔබ යොමු වේවා! යි ප්‍රාර්ථනා කරමි. රටට දැයට වැඩදායි ගුණ ගරුක යහපත් කිතුනුවකු, ධර්මිෂ්ඨ මනුෂ්‍යයකු ඔබ තුළින් බිහිවේවා!

ජේසු පිහිටයි!
අතිගරු පියල් ජානක ප්‍රනාන්දු පියතුමා
ධර්මෝපදේශය සහ බයිබල් සේවා ජාතික අධ්‍යක්ෂ

# 1 පුරාණ ගිවිසුමේ පොත් වර්ගීකරණය

**ගුරුතුමිය :** අද අපේ පළමුවන පාඩම "පුරාණ ගිවිසුමේ පොත් වර්ගීකරණය" පිළිබඳ ව ඉගෙන ගන්න එකයි.

**නොයෙල් :** ඔව් ටීචර්, පොත් 46ක් තියෙනවා.

**ගුරුතුමිය :** බොහොම හොඳයි, නොයෙල්.
මේ පොත් 46 කාණ්ඩවලට බෙදන්න පුළුවන්. ඒ නිසා අපට ඉගෙන ගන්නත් පහසුයි. පුතේ, කාට ද පුළුවන් ගීතාවලිය 119 ගීතිකාව පෙරළලා 105 වන වගන්තිය කියවන්න.

**දනුක :** "ඔබේ වචන මාගේ දෙපයට පහනක් ය. මාගේ මාවතට එළියක් ය."

**ගුරුතුමිය :** බොහොම හොඳයි. තවත් කවුරු හරි ගණන් කතාව 6 පරිච්ඡේදයේ 24-26 වගන්ති කියවන්න.

**ෂෙහාන් :** "සමිඳාණෝ ඔබට ආශීර්වාද කොට ඔබ ආරක්ෂා කරන සේක්වා! සමිඳාණෝ ඔබ දෙස දයාවෙන් බලා ඔබට කරුණා කරන සේක්වා! සමිඳාණෝ සිය නෙත් ඔබ කෙරෙහි යොමා ඔබට සමාදානය දෙන සේක්වා!"

**ගුරුතුමිය :** පුතේ මේ විදිහට ශුද්ධ බයිබලයේ පොත් ඉක්මනින් පෙරළා ගැනීමට අපිට හැකියාව තියෙන්න ඕන. දේව වචනය කියවා තේරුම් ගන්න ඕනේ. අපි දැන් තව දුරටත් ශුද්ධ බයිබලයෙහි පුරාණ ගිවිසුමෙහි පොත් හඳුනා ගනිමු. මේ පොත්වල අඩංගු දේව වචනයේ වටිනාකම තේරුම් ගනිමු.

ශුද්ධ බයිබලයේ පුරාණ ගිවිසුමේ ඇති පොත් ගණන 46කි. මෙම පොත් 46 කොටස් 5කට බෙදා වෙන් කළ හැකි ය. ඒවා නම්,

1. පංච පුස්තකය
2. ඉතිහාස පොත්
3. ප්‍රඥා සාහිත්‍යය
4. දිවැසිවර ග්‍රන්ථ
5. එළිදරව් සාහිත්‍යය

පුරාණ ගිවිසුමේ පළමු වන පොත් පහ පංච පුස්තකය යනුවෙන් හැඳින්වේ.

**පංච පුස්තකය** **5**

1. උත්පත්ති
2. නික්මයාම
3. ලෙවී ව්‍යවස්ථාව
4. ගණන් කතාව
5. ද්විතීය නීති සංග්‍රහය

දෙවන පොත් කාණ්ඩය ඉතිහාස පොත් ය. ඉතිහාස පොත් 16කි.

**ඉතිහාස පොත්** **16**

1. ජෝෂුවා
2. විනිශ්චයකාරයෝ
3. රූත් කතාව
4. 1 සාමුවෙල්
5. 2 සාමුවෙල්
6. 1 රාජාවලිය
7. 2 රාජාවලිය
8. 1 වංශාවලිය
9. 2 වංශාවලිය
10. එස්රා
11. නෙහෙමියා
12. තෝබිත්
13. ජුදිත්
14. එස්තර්
15. 1 මකබි
16. 2 මකබි

තුන්වන කාණ්ඩය ප්‍රඥා සාහිත්‍යයයි. එයට අයත් පොත් ගණන 7කි.

**ප්‍රඥා සාහිත්‍යය**

7

1. ජෝබ්
2. ගීතාවලිය
3. හිතෝපදේශය
4. ධර්මදේශකයා
5. ප්‍රේම ගී
6. ප්‍රඥාව
7. සිරාක් (උපදේශකයා)

හතරවන කාණ්ඩය දිවැසිවර ග්‍රන්ථ වේ. පොත් ගණන 17කි.

**දිවැසිවර ග්‍රන්ථ**

17

1. යෙසායා
2. ජෙරමියා
3. විලාප ගී
4. බාරුක්
5. එසකියෙල්
6. හොසියා
7. ජෝවෙල්
8. ආමොස්
9. ඔබදියා
10. ජෝනා
11. මීකා
12. නාහුම්
13. හබක්කුක්
14. ශෙපනියා
15. හග්ගායි
16. සෙකරියා
17. මලාකි

පස්වන පොත් කාණ්ඩය එළිදරව් සාහිත්‍යය වේ. එයට අයත් පොත් ගණන එකකි.

**1**

**එළිදරව් සාහිත්‍යය**

1. දානියෙල්

### ක්‍රියාකාරකම

දී ඇති උපදෙස් පිළිපදිමින් ප්‍රහේලිකාව පුරවන්න. (පැන්සල භාවිත කරන්න.) 1 සහ 2 වශයෙන් කොටස් දෙකකින් යුත් පොත්වල එක් පොතක් පමණක් සටහන් කිරීම ප්‍රමාණවත් වේ.

හරහට

1. නාහුම් දිවැසිවරයාගේ ග්‍රන්ථයට පසු ව සඳහන් වන පොත ය.
3. ඉතිහාස පොත් කාණ්ඩයට අයත් චරිත කථාවකි.
7. ඉතිහාස පොත් කාණ්ඩයට අයත් පොත් දෙකක් මේ නමින් ඇත.
9. පළමුවන පොත් කාණ්ඩයට අයත් නීති සංග්‍රහයකි.
10. ප්‍රඥාව සම්බන්ධ පොතකි.
11. ප්‍රඥා සාහිත්‍යයට අයත් ආදර්ශවත් චරිත කථාවකි.
13. ජෝනා දිවැසිවරයාගේ පොතට පසු ව යෙදෙයි.
14. ආමොස් දිවැසිවරයාගේ පොතට පසු ව සඳහන් වන පොත ය.
16. ඉතිහාස පොත් කාණ්ඩයට අයත් කාන්තාවක් පිළිබඳ චරිත කතාවකි.
18. ප්‍රඥා සාහිත්‍යයට අයත් අවසාන පොත ය.
19. ගණන් කිරීමක් සම්බන්ධ ව කියවෙන පොතකි.
21. ඉතිහාස පොත් කාණ්ඩයට අයත් අවසාන පොත් දෙක මේ නමින් ඇත.
22. දිවැසිවර ග්‍රන්ථ අතර දහවන තැනට යෙදෙන පොත ය.

23. රැජිනක් පිළිබඳ සඳහන් ඉතිහාස කථාවකි.
26. ප්‍රධාන දිවැසිවර තුන් දෙනාගෙන් එක් කෙනෙකි.
28. දුක්බර ගීත අඩංගු පොතකි.
30. දිවැසිවර ග්‍රන්ථ අතර අවසාන පොත ය.
32. හබක්කුක් හා හග්ගායි ග්‍රන්ථ අතර ඇති පොත ය.
33. ඉතිහාස පොත් කාණ්ඩයට අයත් පොත් දෙකකින් එකකි.
35. හොසියා දිවැසිවර ග්‍රන්ථයට පසු ව යෙදෙන පොත ය.
37. දිවැසිවර පොත් කාණ්ඩයේ අවසාන පොතට පෙර සඳහන් පොත ය.
39. රජවරුන් සම්බන්ධයෙන් කියවෙන පොත් දෙකකින් එකකි.

පහළට

1. ශෙපනියා දිවැසිවරයාගේ පොතට පසු ව සඳහන් වන පොත ය.
2. දිවැසිවර ග්‍රන්ථවලින් හතරවන තැනට ඇති පොත ය.
4. පංච පුස්තකයට අයත් තුන්වන පොත ය.
5. පංච පුස්තකයේ පළමුවන පොත ය.
6. ශුද්ධ බයිබලයෙහි යාච්ඤා පොත ලෙස හඳුන්වනු ලබයි.
8. වීරවරුන් සම්බන්ධ පොතකි.
11. මෝසෙස් තුමාට පසු ව ඊශ්‍රායෙල් ජනතාවට නායකත්වය දුන් පුද්ගලයා ය.
12. එස්රාගේ පොතට පසු ව සඳහන් වන පොත ය.
15. කාන්තා චරිතයක් සම්බන්ධ ලියැවුණු, ඉතිහාස පොත් කාණ්ඩයට අයත් පොතකි.
17. ජෝවෙල් දිවැසිවර පොතට පෙර සඳහන් වන පොත ය.
20. ඊශ්‍රායෙල්වරුන් මිසරයේ වහල්භාවය හා සම්බන්ධ සිද්ධි අන්තර්ගත ය.
23. ප්‍රධාන දිවැසිවරුන් අතර තුන්වන තැන ගන්නේ මොහු ය.
24. ඔබදියා දිවැසිවරයාගේ පොතට පෙර සඳහන් වන පොත ය.
25. ධර්මය දේශනා කරන්නෙකු හා සම්බන්ධ ප්‍රඥා සාහිත්‍යයට අයත් පොතකි.
27. මීකා දිවැසිවරයාගේ පොතට පසු ව සඳහන් වන පොත ය.
29. ප්‍රේමය සම්බන්ධ ගීත අඩංගු ය.
31. එළිදරව් සාහිත්‍යයට අයත් ග්‍රන්ථයකි.
34. ප්‍රඥා සාහිත්‍යයට අයත් ගීතාවලියට පසු ව සඳහන් වන පොත ය.
36. නෙහෙමියා පොතට පෙර සඳහන් වන පොත ය.
38. ප්‍රධාන දිවැසිවරයෙකි.




**ජීවිතයට බිඳක්**

- ★ *නිවසට ශුද්ධ බයිබලයක් මිල දී ගන්න.*
- ★ *එහි පොත් අනුපිළිවෙළ අධ්‍යයනය කරන්න.*

# 2 නව ගිවිසුමේ පොත් වර්ගීකරණය

නව ගිවිසුමේ අඩංගු පොත් ගණන 27කි. ඒවා කොටස් තුනකට බෙදිය හැකි ය.

1. ශුභාරංචි හා ක්‍රියා පොත
2. සංදේශ
3. එළිදරව් සාහිත්‍යය

### 1. ශුභාරංචි හා ක්‍රියා පොත

මෙම කොටසට අයත් පොත් ගණන 5කි.

1. මතෙව් ශුභාරංචිය
2. මාක් ශුභාරංචිය
3. ලූක් ශුභාරංචිය
4. ජොහන් ශුභාරංචිය
5. අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොත

ශුභාරංචි හතරෙන් ජේසුස් වහන්සේ කළ හා කී දේවල් සමහරක් ඉදිරිපත් වේ.

ශුභාරංචිවල සඳහන් ජේසුස් වහන්සේගේ ඉගැන්වීම් අපගේ එදිනෙදා ජීවිතවලට වැදගත් වන නිසා ඒවා දිනපතා කියවීමටත් මෙනෙහි කිරීමටත් පුරුදු විය යුතු වේ. එලෙස කිරීමෙන් මෙම පොත් ඉක්මනින් භාවිතයට ගැනීමට ද පහසු වේ.

අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පොතෙහි දක්වෙන්නේ ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගෙන් පසු ව මුල් කිතුනු සභාව ආරම්භ වී වර්ධනය වූ ආකාරයයි. පේදුරු හා පාවුලු අපෝස්තුලුවරුන්ගේ ක්‍රියා පිළිබඳ විශේෂයෙන් සඳහන් වේ.

### 2. සංදේශ

නව ගිවිසුමෙහි සංදේශ 21ක් ඇත.

| | |
|---|---|
| 1. රෝම | 2. 1 කොරින්ති |
| 3. 2 කොරින්ති | 4. ගලාති |
| 5. එපීස | 6. පිලිප්පි |
| 7. කොලොස්සි | 8. 1 තෙසලෝනික |
| 9. 2 තෙසලෝනික | 10. 1 තිමෝති |
| 11. 2 තිමෝති | 12. තීතස් |
| 13. පිලමොන් | 14. හෙබ්‍රෙව් |

15. ජාකොබ්
16. 1 පේදුරු
17. 2 පේදුරු
18. 1 ජොහන්
19. 2 ජොහන්
20. 3 ජොහන්
21. ජූද්

මුල් කිතුනු සභාවට පමණක් නොව සැම කාලයකට ම අදාළ ඉතාමත් වටිනා ඉගැන්වීම් රැසක් මෙම සංදේශවල අන්තර්ගත ව ඇත. මෙම දහම් කරුණු අපගේ ජීවිතවලට වැදගත් නිසා ඒවා කියවීමට ද විශේෂයෙන් ඉරුදින දිව්‍ය පූජාවේ දී කියවන කියවීම්වලට භක්තියෙන් ඇහුම්කන් දීමට ද පුරුදු වෙමු.

### 3. එළිදරව් සාහිත්‍යය

එළිදරව් සාහිත්‍යයට අයත් නව ගිවිසුමෙහි ඇති එක ම පොත එළිදරව්ව නම් පොතයි. කිතුනුවන්ට විරුද්ධ ව පැමිණි පීඩනවලට මුහුණදුන් විශ්වාසකයන් දිරි ගැන්වීම සඳහා ලියන ලද කෘතියකි. මෙම පොත ලියා ඇත්තේ සංකේත භාවිතයෙනි. වර්තමානයේ ද බොහෝ කිතුනුවන් විශ්වාසය නිසා පීඩනවලට ලක් වී ඇති බව අපි දනිමු. ඔවුන්ගේ විශ්වාසය ආරක්ෂා වීමට ඔවුන් වෙනුවෙන් යාච්ඤා කරමු. එමගින් ඔවුන්ට සහාය වෙමු. අපගේ කිතුනු විශ්වාසය කිසිදු බලවේගයක් හමුවේ වුව ද පාවා නොදීමට අදිටන් කර ගනිමු. අපි දේව වචනය තුළ ශක්තිමත් වෙමු.

**ක්‍රියාකාරකම**



පහත සඳහන් දත්ත ප්‍රයෝජනයට ගනිමින් නව ගිවිසුමේ පොත් ආශ්‍රයෙන් ප්‍රහේලිකාව විසඳන්න.

එක් නමකින් පොත් කිහිපයක් ඇති විට එක් පොතක් පමණක් සැලකිල්ලට ගැනීම ප්‍රමාණවත් වේ.

**පහළට**

1. දෙවන ශුභාරංචි ග්‍රන්ථය වේ.
2. නව ගිවිසුමෙහි සංදේශ අතරින් පළමු ව සඳහන් සංදේශය මෙයයි.
3. අපෝස්තුලුවරුන් කරන ලද ක්‍රියා අන්තර්ගත ය.
4. මෙම කිතුනු සංඝය වෙත පාවුලු තුමා සංදේශ දෙකක් යවා ඇත.
6. සංදේශ අතර හතර වෙනුවට ඇත්තේ මෙම සංඝයට ලියන ලද හසුන ය.
9. මෙම අපෝස්තුලුවරයා නමින් ලියන ලද ලිපි තුනකි.
10. නව ගිවිසුමෙහි අවසාන පොත ය.
13. එක්තරා පුද්ගලයෙකුට යවන ලද පාවුලු තුමාගේ සංදේශයකි.
15. මෙය අපෝස්තුලුවරයකුගේ නමින් ලියන ලද ලිපියකි.
18. පළමු ශුභාරංචි ග්‍රන්ථය වේ.

හරහට

4. සංදේශ අතර හත්වන තැනට ඇත්තේ මෙම ලිපියයි.
5. මෙය තෙවන ශුභාරංචියයි.
7. පාවුලු තුමා පෞද්ගලික ව යැවූ ලිපියකි.
8. පාවුලු තුමා පෞද්ගලික ලිපියක් මෙතුමාට ලියා තිබේ.
10. පාවුලු සංදේශ අතර පස්වන ලිපියයි.
11. හතරවන ශුභාරංචියයි.
12. අපෝස්තුලුවරුන්ගේ නායකයා වන මෙතුමා නමින් ලිපි දෙකක් ඇත.
13. එපීස ලිපියට පසු ව එන සංදේශය මෙයයි.
14. සංදේශ අතර දහහතරවන සංදේශය මෙයයි.
16. පාවුලු තුමා විසින් ලියන ලද සංදේශ දෙකක් මේ නමින් ඇත.
17. පහළොස්වන සංදේශයයි.






**ජීවිතයට බිඳක්**

*නව ගිවිසුමෙහි ඉගැන්වීම් කිතුනු අපගේ ජීවිතයට ඉතා වැදගත් වේ. එහෙයින් දිනපතා දේව වචනය කියවීම හා මෙනෙහි කිරීමට පුරුදු වෙමු.*

# 3 ගීතාවලිය

දෙසට කඳුකරේ
නගමි ඇස් මගේ
එනු ඇතේ එතැනිනේ
උදව් පිහිට මා සොයා
අහස හා පොළොව හා
මැව්ව සමිඳුනේ
මගේ සහයට ඔබ මැ වඩින්නේ

දෙපා හැපී නොවැටෙන ලෙස එතුමෝ ඔබ රකිත්වා
ඔබේ මුරකරු එතුමාණෝ ඔබ නිති මුර කරත්වා
එතුමන් නෑ කවදාවත් නිදි කිර කිර සිටින්නේ
ඊශ්‍රයෙලුන් රකින්නෝ නොනිදති කිසි දිනෙක හෝ

සුරකු, ඔබට ඔබට හෙවණ, සුරිඳෝ වෙති නිති පතා
රැකවරණය ඔබට දෙන සෙ, ඔබ සුරතේ සිටින්නේ
රෑ යාමේ සඳුගෙන් වන විපතින් ඔබ මුදන්නෝ
දිවා හිරුගෙ උවදුරින් ද එතුමෝ ඔබ රකින්නෝ

ඔබට වදින හැම නපුරින් සුරිඳෝ ඔබ රකින්නෝ
ඔබගේ වන ආත්මය ද රකිති ඔවුන් වහන්සේ
යන එන ගමනත් ඔබගේ සුරිඳුන් හට බාර වේ
ගෙවමින් යන දූනුත් මේ අදත්, හෙටත් නිති දිනේ

(කිතුනු ගී 76)

ඉහත ගීතිකාව මෙනෙහි කරමින් ගායනා කරන්න. එය ගීතාවලිය 121 ඇසුරෙන් ලියවුණු තෙහිලි ගීයකි.

ගීතාවලිය යනු යාච්ඤාමය ගීතිකා 150ක එකතුවකින් යුත් ශුද්ධ බයිබලයෙහි පොතකි. මෙහි එන සෑම ගීතිකාවක් ම තත් සහිත වාද්‍ය භාණ්ඩයක් සමග ගායනා කළ ඒවා ය. මෙම ගීතිකා බොහොමයක් දෙවියන් වහන්සේගේ යහපත්කම නිසා පිරී ඉතිරී යන සතුටකින් හා ප්‍රශංසාවකින් ගායනා කරන ලද ඒවා ය. එහෙත් දුක, විලාපය හා මනස්ථාපනය යනාදිය ඇති ව ගයන ලද ගීතිකා ද ඇත. තවත් සමහර ගීතිකා ලෙඩ-දුක් හා ජීවිතයේ අමිහිරි අත්දැකීම් පිළිබඳ ව ය. ගීතාවලිය ශුද්ධ බයිබලයේ අනෙක් පොත්වලට වඩා දෙවි සමිඳාණන් වහන්සේ වෙත යොමු කෙරුණු ඉශ්‍රායෙල් ජනතාවගේ ජීවිතය හා සම්බන්ධ අත්දැකීම් ආශ්‍රයෙන් ම ලියා ඇත.

"ඉශ්රායෙල් ජනතාවගේ යැදුම් පොත" හා "ගී කළඹ" ලෙස හඳුන්වනු ලබන ගීතාවලිය ශුද්ධ බයිබලයෙහි යාච්ඤා පොත ලෙස ද හැඳින්වේ.

සාම්ප්‍රදායික ව දාවිත් රජතුමා ගීතාවලියෙහි කර්තෘ ලෙස පිළිගනු ලබයි. එහෙත් මෙම ගීතිකාවල දක්නට ලැබෙන භාෂා ශෛලියේ විවිධත්වය, අන්තර්ගතය හා සම්බන්ධ කාලය පිළිබඳ සලකා බැලිමේ දී කර්තෘත්වය පිළිබඳ එකඟතාවක් නොමැති බව පෙනේ. ගීතාවලියට පසුබිම් වී ඇත්තේ ඉශ්රායෙල් ජනතාවගේ ජනවන්දනාව (නමස්කාරය) බව පොදු පිළිගැනීමයි.

ගීතාවලිය නිර්මාණය වී ඇත්තේ කාණ්ඩ පහක එකතුවකිනි. (පංච පුස්තකය ද පොත් පහකින් සමන්විත ය.)

පළමුවන කාණ්ඩය - ගීතාවලිය 1-41
දෙවන කාණ්ඩය - ගීතාවලිය 42-72
තෙවන කාණ්ඩය - ගීතාවලිය 73-89
සිව්වන කාණ්ඩය - ගීතාවලිය 90-106
පස්වන කාණ්ඩය - ගීතාවලිය 107-150

මෙම සැම කාණ්ඩයක් අවසානයෙහි ම ඇති වගන්තිය (වගන්ති) යාච්ඤාමය ස්වරූපයක් ගනියි. දෙවි සමිඳාණන් වහන්සේට කරන ප්‍රශංසාවකින් සැම පොතක් ම අවසන් වේ.
උදා :- ගීතාවලිය 41:13
ගීතාවලිය 72:19
ගීතාවලිය 89:52
ගීතාවලිය 106:48
ගීතාවලිය 150

## ගීත වර්ගීකරණය

### 1. ප්‍රශංසා ගීතිකා

දෙවියන් වහන්සේගේ මැවීම හා ගැලවීමේ ක්‍රියාවලියත් ඔවුන් වහන්සේගේ ගුණාංග වන යහපත්කම, කරුණාව, දයාව, උදාරත්වය, රාජකීයත්වය වැනි ලක්ෂණ වර්ණනා කරමින් ස්තුති කරන්නටත් නිර්මාණය කළ ගීතිකා මෙහි අඩංගු වේ.
උදා :- ගීතාවලිය 8, 112, 145-150

සමිඳුනි,
අපේ සමිඳුනි,
ඔබේ නාමය ලෝ පුරා
කොතරම් මහිමාන්විත වන්නේ ද?
(ගීතාවලිය 8:1)

**2. විලාප ගීතිකා**

කරදර හා ආපද අවස්ථාවල සහනය පතා දෙවියන් වහන්සේට ආයාචනා කරන ගීත මේ නමින් හැඳින්වේ. මේවා කොටස් දෙකකි.

1. පෞද්ගලික විලාප ගීතිකා - 3, 5, 6, 7, 13, 14
2. සාංඝික හෝ ජාතික ආයාචනා - 44, 74, 79, 80, 83

සමිඳුනි,
මාගේ කන්නලව්වට
සවන් දුන මැනව.
මාගේ ගැලවීමේ ශක්තිය වන
මහෝත්තම දෙවි ස්වාමීනි
මා ආරක්ෂා කළ මැනව.
සටනේ දී මාගේ හිස වැස්මකින්
ආරක්ෂා කළ සේක.
(ගීතාවලිය 140:6-7)

**3. තුති දීමේ ගීතිකා**

දෙවියන් වහන්සේගෙන් ලද වරප්‍රසාද හෝ දීමනා වෙනුවෙන් කෘතවේදීතාව ප්‍රකාශ කරන ගීතිකා වේ.
උදා :- ගීතාවලිය 18, 105-116

සමිඳුන් හට තුති පුදන්න.
එතුමාණෝ යහපත් ය.
එතුමාණන්ගේ තිර පෙම
සදහට පවතින්නේ ය.
(ගීතාවලිය 136:1)

**4. ප්‍රඥා ගීතිකා**

ධර්මිෂ්ඨ ජීවිතයක් ගත කිරීම සඳහා ජනතාවට යහ මග පෙන්වන ඉගැන්වීම් මෙම ගීතවල අන්තර්ගත වේ.
උදා :- ගීතාවලිය 1, 73-133

දුදනන්ගේ උපදෙස් අනුව නොයන,
පව්කරුවන්ගේ මග නොයන
දෙවිඳුන් ගරහන්නන් ඇසුරු නොකරන,
සමිඳුන්ගේ විනයෙහි ප්‍රීති ප්‍රමුදිත වන,
දිවා රෑ එය භාවනා කරන
මිනිසා භාග්‍යවන්තයෙක් වන්නේ ය.
(ගීතාවලිය 1:1-2)

**5. රාජකීය ගීතිකා**

රාජාභිෂේක හා රාජකීය විවාහ මංගල්‍ය අවස්ථාවල දී භාවිත කරන ගීත මෙලෙස හැඳින්වේ. උදා :- ගීතාවලිය 2, 45-72

දෙවිඳුනි,
රජතුමාට ඔබගේ
විනිශ්චය කිරීමේ ඥානය
දුන මැනව!
(ගීතිකා 72:1)

**6. සියොන් ගීතිකා හෙවත් වන්දනා ගීතිකා**

"සියොන්" යනුවෙන් හැඳින්වෙන්නේ ජෙරුසලම ය. ජෙරුසලමේ ශ්‍රී විභූතිය ගැන මෙම ගීතිකාවලින් ප්‍රකාශ වේ. ජෙරුසලම කරා යන වන්දනා ගමන්වල දී භාවිත වී ඇත. උදා :- ගීතාවලිය 46, 48,122-125

සමිඳුන් විශ්වාස කරන්නෝ
සියොන් කන්ද මෙන්
අචල යඃ සදාකාලික ය.
(ගීතාවලිය 125:1)

**7. විශ්වාසයේ ගීතිකා**

මෙම ගීතිකා දෙවිඳුන් කෙරෙහි අචල විශ්වාසය ප්‍රකාශ කරයි. දෙවියන් වහන්සේ මත යැපෙමින් මෙම ගීත ගායනා කරයි. උදා :-ගීතාවලිය 23, 62

මරණය වැන ගන'දුරු
රුදුරු නිම්නය මැදින් ගියත්,
ඔබ මා සමග බැවින්,
මට කිසි බියක් නොවන්නේ ය
ඔබේ කෙවිට ද සැරයටිය ද
මා නියත සැනසිල්ල වන්නේ ය.
(ගීතාවලිය 23:4)

ගීතාවලිය යාච්ඤාව පිළිබඳ නිධානයකි. ගීතාවලිය ඉශ්රායෙල් ජනතාව තම ජන ජීවිතය තුළ දෙවි සමිඳාණන් වහන්සේ අත්දුටු බවට ඇති හොඳ ම සාක්ෂියකි. ඔවුන්ගේ ජීවිතයේ සෑම සිදුවීමක් සමග ම බැඳුණු අත්දැකීම් දෙවියන් වහන්සේ වෙත ඉදිරිපත් කෙරෙයි.

ගීතාවලියෙහි ගීතිකා ක්‍රිස්තුන් වහන්සේගේ ඉගැන්වීම්වල දී භාවිත කර ඇත. කන්ද උඩ දේශනාවේ දී ගීතාවලිය උපුටා ගෙන ඇත. 6:9, 24:3-4 හා 37:11 උදහරණ වේ. තව ද කුරුස ගසේ දී ජේසුස් වහන්සේ ගීතාවලිය 22:1 භාවිත කර ඇත.

සතුට, ජයග්‍රහණය වෙනුවෙන් දෙවියන් වහන්සේට ප්‍රශංසා කරන අපි වේදනාවේ දී කරදරයේ දී දෙවිඳුන්ට කන්නලව් කරන්නෙමු; උන්වහන්සේගේ පිහිට පතන්නෙමු. පාපයට වැටුණු විට මනස්ථාපනය වන්නෙමු. දෙවිඳුන් සොයා නැවත හැරෙන්නෙමු. සමාව යදින්නෙමු. මෙවැනි සියලු අත්දැකීම් අප යාච්ඤාවට ගොනු කරනුයේ ගීතාවලියෙහි ගීත ආශ්‍රයෙනි.

ජනවන්දනාවේ උතුම් ම අංගයක් වූ දිව්‍ය පූජාවේ දී ද දේව වචනයට පිළිතුරක් ලෙස යොදා ගනු ලබන්නේ ගීතාවලියෙන් ගන්නා ලද ගීතිකා ය. එමෙන් ම යාම යැදුම හා සැඳෑ යාම යැදුම සඳහා ද ගීතාවලිය නැති ව ම බැරි ය.

එහෙයින් ගීතාවලිය එදා මෙන් ම අදත් ජනවන්දනාවේ දී භාවිත වේ. එය බැතිමතුන්ගේ සිත් සතන් දෙවිඳුන් වෙත එසවීමට උපකාර වන යැදුම් පොතකි.

**ක්‍රියාකාරකම**



1. ගීතාවලියෙහි ඔබ කැමැති ගීතිකාවක් සටහන් පොතෙහි ලියන්න.
2. ගීතාවලියෙහි උපුටා ගන්නා ලද ගීතිකාවක් බිත්ති පුවත්පතේ දමන්න.
3. "ගීතාවලිය ශුද්ධ බයිබලයෙහි යැදුම් පොතයි" නම් මාතෘකාව යටතේ වචන 100ක රචනාවක් ලියන්න.
4. දෙවියන් වහන්සේට ප්‍රශංසා කරමින් ගීතිකාවක් නිර්මාණය කරන්න.

**ජීවිතයට බිඳක්**

*යාච්ඤාව සඳහා ගීතාවලිය භාවිතයට හුරුවන්න.*

# 4 සමදර්ශක ශුභාරංචි

සදලි : අම්මේ, අපේ පන්තියේ රෙබෙකා ජේසුස් වහන්සේ ගැන ලස්සන කවි පෙළක් ලියලා. ඒක ළමා ප්‍රදීපයේ පළ වෙලා. මේ බලන්න. හරි ම ලස්සනයි.

අම්මා : කොච්චර හොඳ දෙයක් ද?

සදලි : අම්මේ, මටත් ආසයි ජේසුස් වහන්සේ ගැන විස්තර දැන ගන්න. එතුමා උගන්නපු දේවල්, කතා කරපු දේවල්, රෝගීන් සුව කළ හැටි, මේවා හරියට ම දැන ගන්න ආසයි.

අම්මා : ඉතින් පුතේ, ඔයා ශුභාරංචි කියවන්න. ඒක තමයි හොඳ ම විදිහ ජේසුස් වහන්සේ ගැන දැන ගන්න.

සදලි : මට පුළුවන් වේවි ද ඉවර කරන්න.

අම්මා : ඔව් මුලින් ම සමදර්ශක ශුභාරංචි කියවන්න පටන් ගන්න.

සදලි : මොනව ද අම්මේ සමදර්ශක ශුභාරංචි කියල කියන්නේ? මම එහෙම නමක් අහලා නැහැ.

අම්මා : හොඳයි. මම කියල දෙන්නම් සමදර්ශක ශුභාරංචි මොනවා ද කියලා.

සමදර්ශක ශුභාරංචි 3කි. ඒවා නම්;

1. මතෙව් ශුභාරංචිය
2. මාක් ශුභාරංචිය
3. ලූක් ශුභාරංචිය



මෙම ශුභාරංචි සමදර්ශක ශුභාරංචි ලෙස හඳුන්වන්නේ ඒවා අතර සමානකම් බහුල ව ඇති නිසා ය. ජේසුස් වහන්සේ සම්බන්ධ තොරතුරු මේ සුවිශේෂක කතුවරුන් තුන්දෙනා ම දක්වන්නේ බොහෝ දුරට සමාන ආකාරයට ය.

ජේසුස් වහන්සේගේ බෞතීස්මය සමදර්ශක ශුභාරංචි කතුවරුන් තිදෙනා දකිනුයේ සමාන ආකාරයකට ය. පහත උපුටා ගැනීම් ඒ සඳහා උදහරණ වේ.

තව ද "මොහු මාගේ ප්‍රියාදර පුත්‍රයා ය. මොහු කෙරේ මම ඉතා ප්‍රසන්න වී සිටිමි"යි ස්වර්ගයෙන් හඬක් නික්මිණි.

(මතෙව් 3:17)

තව ද ස්වර්ගයෙන් නික්මුණු හඬක්, "ඔබ මාගේ ප්‍රියාදර පුත්‍රයාණෝ ය. ඔබ කෙරේ ඉතා ප්‍රසන්න වී සිටිමි"යි පැවසී ය.

(මාක් 1:11)

එවිටː "ඔබ මාගේ ප්‍රියාදර පුත්‍රයාණෝ ය. ඔබ කෙරෙහි ඉතා ප්‍රසන්න වී සිටිමි"යි අහසින් හඬක් නික්මිණි.

(ලූක් 3:22)

ශුද්ධ වූ ලූක් තුමාගේ සුවිශේෂය පිළිබඳ ව අට වන ශ්‍රේණියේ දී අපි ඉගෙන ගත්තෙමු. මෙම පාඩමේ දී අපි ශුද්ධ වූ මතෙව් තුමා සහ ශුද්ධ වූ මාක් තුමා පිළිබඳ ව ඉගෙන ගනිමු.

## මතෙව් ශුභාරංචිය

**කර්තෘ :** ශුද්ධ වූ මතෙව් අපෝස්තුලුතුමා

**කාලය :** ක්‍රි.ව. 80 - 90

**අරමුණු :** - ජේසුස් වහන්සේ නව මෝසෙස් තුමා හා නව මෙසියානික ගුරුවරයාණන් බව ප්‍රකාශ කිරීමට

**මෙම ශුභාරංචිය සඳහා භාවිත වන වෙනත් නම් :**
ශුද්ධ වූ සභාවේ ශුභාරංචිය
දේව රාජ්‍යයේ ශුභාරංචිය



4.1 රූපය - ශුද්ධ වූ මතෙව් තුමා

## මාක් ශුභාරංචිය

**කර්තෘ :** ශුද්ධ වූ මාක් තුමා

**කාලය :** ක්‍රි.ව. 64 - 66

**අරමුණ :** - රෝමයේ නීරෝ අධිරාජ්‍යයාගේ පීඩනයට ලක් වූ කිතුනුවන් දිරිමත් කිරීමට ය.



4.2 රූපය - ශුද්ධ වූ මාක් තුමා

**මෙම ශුභාරංචිය සඳහා භාවිත වන වෙනත් නම් :**
දුක්ප්‍රාප්තියේ ශුභාරංචිය

එසේ ම අප ජීවිතයට පැමිණෙන අභියෝග ඉදිරියෙහි ක්‍රිස්තුන් වහන්සේට සාක්ෂි දැරීමට උනන්දු වෙමු. රෝම අධිරාජ්‍යයේ පීඩන හමුවේ මාක් සංඝයෙහි කිතුනුවන් විශ්වාසවන්ත ව සිටීම අපි ආදර්ශයට ගනිමු. අපේ ජීවිතවල එදිනෙදා හමුවන අභියෝගවලට විශ්වාසයෙන් පිළිතුරු දෙමු.

දෙවියන් වහන්සේ අපට දී ඇති විවිධ දක්ෂතා හා හැකියා උදෙසා අපි උන්වහන්සේට ස්තුති ප්‍රශංසා කරමු. විශේෂයෙන් ශුභාරංචි කතුවරුන් මෙන් අපේ ලේඛන හැකියා ශුභාරංචිය පතළ කිරීමට උපයෝගී කර ගනිමු.

### ක්‍රියාකාරකම



1. සමදර්ශක ශුභාරංචි නම් කරන්න.
2. මතෙව් ශුභාරංචිය සඳහා භාවිත වන වෙනත් නම් දෙකක් ලියන්න.
3. ශුද්ධ වූ මාක් තුමා ශුභාරංචිය ලියූ අරමුණ සඳහන් කරන්න.



**ජීවිතයට බිඳක්**

*අභියෝග හමුවේ ක්‍රිස්තුන් වහන්සේට සාක්ෂි දරමු.*

# 5 ජොහන් ශුභාරංචිය

කර්තෘ : ශුද්ධ වූ ජොහන් අපෝස්තුලුතුමා

කාලය : ක්‍රි.ව. 90 - 100

අරමුණු : - ජේසුස් වහන්සේ දෙවියන් වහන්සේගේ පුත්‍රයා බවත් උන්වහන්සේ අදහා ගැනීමෙන් සදතන ජීවිතය ලැබෙන බවත් ඉගැන්වීමට ය.

ශුභාරංචිය සඳහා භාවිත වන වෙනත් නම් : ආධ්‍යාත්මික ශුභාරංචිය



5.1 රූපය - ශුද්ධ වූ ජොහන් තුමා

### "මම වෙමි" ප්‍රකාශන

ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ දේවත්වය ප්‍රකාශ වන "මම වෙමි" ප්‍රකාශ හතක් මෙම ශුභාරංචියෙහි ඇත.

### 1. "ජීවනදායක භෝජනය මම වෙමි" (ජොහන් 6:35)

සදාතන ජීවිතය ලබා දෙන සැබෑ ආහාරය ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ ය. උන්වහන්සේ දිව්‍ය සත්ප්‍රසාදය තුළ ජීවමාන ව වැඩ සිටින සේක. අපි දිව්‍ය සත්ප්‍රසාදය ලබා ගත යුත්තේ මහත් ගෞරවයෙන් හා ආදරයෙන් යුක්ත ව ය. දිව්‍ය සත්ප්‍රසාදය නිතර ලබා ගැනීමෙන් අපගේ ජීවිත ආධ්‍යාත්මික ව පෝෂණය වෙයි.

### 2. "ලෝකයේ ආලෝකය මම වෙමි" (ජොහන් 8:12)

ජේසුස් වහන්සේ සැම කෙනෙකුට ම ආලෝකයක් වූ ආකාරය මෙම ශුභාරංචිය තුළින් පැහැදිලි වේ. වචනයෙන් පමණක් නොව ක්‍රියාවෙන් හා පැවැත්මෙන් ජේසුස් වහන්සේ ලෝකයට ආලෝකයක් විය. ආලෝකය ඇති තැන අන්ධකාරයට ඉඩක් නැත. ආලෝකයෙහි ජීවත් වීමට සියලු ම පාපීකාරී ක්‍රියාවන්ගෙන් ඈත්විය යුතු වෙයි. අපි ආලෝකයේ දරුවන් වීමට උත්සාහ කරමු.

## 3. "බැටළුවන්ට දොරටුව මම වෙමි" (ජොහන් 10:7)

ජේසුස් වහන්සේ නමැති එඬේරාණන්ගේ බැටළුවන් වන අපි ඔවුන් වහන්සේ නමැති දොරටුවෙන් ඇතුළු වී සදාතන ජීවිතය ලබා ගත යුතු වෙමු.

## 4. "මම යහපත් එඬේරා වෙමි" (ජොහන් 10:11)

බැටළු එඬේරෙකු බැටළුවන් මෙහෙය වන්නේ ඉදිරියෙන් ගමන් කරමිනි. එඬේරෙක් එසේ කරනුයේ බැටළුවන්ට අවැසි ආරක්ෂාව හා මඟපෙන්වීම තහවුරු කරනු සඳහා ය. ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ යහපත් එඬේරෙක් ලෙස අපට මඟපෙන්වීම ලබා දෙයි. අපි උන්වහන්සේට කීකරු යහපත් බැටළුවන් වෙමු.



5.2 රූපය - යහපත් එඬේරා

## 5. "පුනර්ජීවනය ද ජීවනය ද මම වෙමි" (ජොහන් 11:25)

ජේසුස් වහන්සේ අපට ජීවිතය ලබා දෙනවා පමණක් නොව මරණයෙන් පරාජය කළ නොහැකි ජීවිතයකට අප පංගුකාර කරන සේක. උන්වහන්සේ මරණය පරාජය කොට උත්ථාන වූවා සේ අප ද උත්ථාන කරනු ලබන සේක. මරණින් පසු අපට ලැබෙන ජීවිතය පිළිබඳ ව විශ්වාස කරමින් එම ජීවිතය ලබා ගනු සඳහා යහපත් ව ජීවත් විය යුතු වෙමු.

## 6. "මාර්ගය ද සත්‍යය ද ජීවනය ද මම වෙමි" (ජොහන් 14:6)

මාර්ගය පෙන්විය හැක්කේ, සත්‍යය ප්‍රකාශ කළ හැක්කේ හා ජීවිතය දිය හැක්කේ ඒවා ඇති කෙනෙකුට පමණි. දෙවියන් වහන්සේ වෙතට යන මාර්ගය ජේසුස් වහන්සේ දන්නා සේක. උන්වහන්සේ සත්‍යය වන සේක. උන්වහන්සේ විශ්වාස කිරීමෙන් අපට සදාතන ජීවිතය ලබා ගත හැකි ය. අපි උන්වහන්සේ පෙන්වා දුන් ධර්ම මාර්ගයේ ගමන් කරමින් සත්‍යයට සාක්ෂි දරමු.

## 7. "සැබෑ මිදිවැල මම වෙමි" (ජොහන් 15:1)

මිදි අතුවල ඵල දරන්නට නම් ඊට අවශ්‍ය ජලය හා පෝෂණය මිදි වැලෙන් ලබා ගත යුතු වෙයි. ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ සැබෑ මිදි වැල ය. අපගේ ජීවිත සාර්ථක ව ඵල දැරීමට ජේසුස් වහන්සේ නමැති මිදිවැලට සම්බන්ධ විය යුතු වෙමු. ජේසුස් වහන්සේ නමැති මිදිවැලේ ඵල දරන අතු අපි වෙමු.

**ක්‍රියාකාරකම**



1. ජොහන් ශුභාරංචිය ලියූ අරමුණු **දෙකක්** ලියන්න.
2. හතරවෙනි ශුභාරංචියෙහි සඳහන් "මම වෙමි" ප්‍රකාශ **තුනක්** නම් කරන්න.
3. "මම යහපත් එඬේරා වෙමි" ජේසුස් වහන්සේගේ මෙම ප්‍රකාශය පිළිබඳ ව ඔබගේ අත්දැකීම් ද කැටි කොට වාක්‍ය **දහයක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

*යහපත් බැටළු එඬේරාගේ යහපත් බැටළුවන් වීමට වෙර දරමු.*

# 6 මිනිසා පාපයට වැටීම

9 ශ්‍රේණියේ ඉගෙනුම ලබන බාසුරු, දෙවි පියාණන් වහන්සේට ආදරය කරන ඉතා යහපත් දක්ෂ සිසුවෙකි. ඔහු නිතර සැම දෙනාගේ ප්‍රශංසාවට ලක් වූයේ සැබවින් ම ඔහු තුළ තිබූ යහපත් ගුණාංග නිසා ය. එම නිසා ඔවුන් නිතර ම උපදෙස් දෙමින් කියා සිටියේ; "අපි මේ කියන්නේ ඔය ළමයින්ට ආදර්ශයට ගන්න බලන්න, බාසුරු හොඳ දරුවෙක්. ඇයි ඔයාලට එහෙම හැදෙන්න බැරි? ඔයාලගේ හැසිරීම අන්තිම නරකයි. කිසි ම දෙයක් හරියට කරන්නේ නෑ. ඔයාලා ඉන්නේ මේ ලෝකේ නෙමෙයි." මෙසේ සැම විට ම විදුහල්පතිතුමාගේ හා ගුරුවරුන්ගේ අප්‍රසාදයට ලක් වූ සිසුන් කිහිපදෙනෙක් කෙසේ හෝ බාසුරු ව ද තම වසඟයට ගැනීමට තීරණය කළෝ ය.

පාසල නිම වී ගෙදර යන බාසුරුට ඉතා සුහද ව කතා කළ ඔවුහු ජංගම දූරකථනයක් පෙන්වමින්, එය ඉතා අගනා සුන්දර දසුන්වලින් සමන්විත බව ඒත්තු ගන්වන්නට වූහ. එය නැරඹීමට කෙසේ හෝ ඔහු පොලඹවා ගත් මොවුන් සුන්දර දෙයින් අසුන්දර දෙයට ඔහු ගෙන ගියේ ඉතා සූක්ෂම ලෙස ය. අවසානයේ බාසුරු ද ජංගම දූරකථනයට තම ජීවිතය බාර දී සියල්ල අහිමි කර ගත්තේ ඔහු ද නොදැනුවත් ව ය.

බාසුරු විභාග අසමත් වූවා පමණක් නොව සැමගේ අප්‍රසාදයට ලක් වූවෙකු බවට පත් විය. සියලු දෙනා ඔහු අතහැර ගියෝ ය. ඔහුට ආදරවන්ත දෙවි පියාණන් වහන්සේ සිහි වූයේ එවිට ය. ඔහු පියතුමා ළඟට ගොස් සිදු වූ සියල්ල පවසා පාපෝච්චාරණය කළේ ය. පියතුමාගේ අවවාදයෙන් හා දේව ආශිර්වාදයෙන් සියල්ල තේරුම් ගෙන නැවත තමාට අහිමි වූ ජීවිතය ලබා ගැනීමට බාසුරු තීරණය කළේ, කිසිදු දිනක වැරදි වැඩ නොකිරීමේ අධිෂ්ඨානයෙන් ය.

★ ★ ★ ★ ★ ★ ★ ★ ★ ★

දෙවි සමිඳාණන් වහන්සේ ආදම් සහ ඒව ඒදන් උයන වගා කර එය රැක බලා ගැනීම පිණිස එහි පදිංචි කරවූ සේක. එහි දී දෙවියන් වහන්සේ ඔවුන්ට දුන් අවවාදය කුමක් දැයි බලමු.

> හොඳ නරක අවබෝධ කිරීමේ ගසින් පමණක් නොකෑ යුතු ය; නුඹ යම් දවසක ඒ ගසින් කන්නෙහි ද ඒ දවසෙහි මරණය නුඹට ඒකාන්ත ය.
>
> (උත්පත්ති 2:17)

ඉහත දක්වා ඇති බයිබල් පාඨයෙන් අපට ගත හැකි පාඩම වන්නේ දෙවියන් වහන්සේ ආදර පියෙකු මෙන් අපට ද නිවැරදි මඟ යන්නට අවවාද දෙන බව ය. විශේෂයෙන් අපගේ හෘද සාක්ෂිය තුළින් කථා කරන සේක. එම නිසා අප සැම විට ම දේව හඬට සවන් දිය යුතු ය.



6.1 රූපය - ආදම් සහ ඒව පරීක්ෂාවට වැටීම

පුරුෂයාත් ස්ත්‍රියත් උයනේ ජීවත් වූහ. අවශ්‍ය ප්‍රමාණයට ආහාර ලදහ. දෙවියන් වහන්සේ ඔවුන් සමග මිත්‍ර වූ නිසා ඉතා සතුටින් ජීවත් වූහ. දෙවි පියාණන් වහන්සේ මැවූ අනෙක් සියලු සතුන්ට වඩා සර්පයා උපායෙහි දක්ෂ විය. සර්පයා ස්ත්‍රිය පරීක්ෂාවට ලක් කළේ ය. සර්පයා ස්ත්‍රියට කතා කොට ඒදන් උයනේ ඇති කිසියම් ගසකින් ගෙඩි නොකන ලෙස, දෙවියන් වහන්සේ ඔවුන්ට අණ කළ සේක් දැයි ප්‍රශ්න කළේ ය. සියලු ගස්වල ගෙඩි කෑමට අවසර ඇති නමුත් උයන මැද ඇති ගසෙන් පමණක් කන්න තහනම් බව කීවා ය. එසේ කළහොත් ඔවුන් මැරෙන බව ඇය කීවා ය. එහෙත් ඔවුන් නොමැරෙන බවත් එම ගසේ ගෙඩි කෑවොත් ඔවුන්ගේ ඇස් පෑදී දෙවියන් වහන්සේ හා සමාන වී හොඳ නරක දැනගන්නට ඔවුන්ට හැකි වන බවත් සර්පයා දැන්වී ය.

සර්පයාගේ රැවටිලි බස්වලට අසු වූ ස්ත්‍රිය ඒ ගසේ ගෙඩි ඉතා රසවත් යැයි ද තමනට බුද්ධිය ලබා දෙනු ඇතැයි ද සිතුවා ය. ඕ ගෙඩි කිහිපයක් ගෙන කෑවා ය. පුරුෂයාට ද ගෙඩි සමහරක් දුන් විට ඔහු ද කෑවේ ය.

ඉහත කථාවෙන් අපට පෙන්නුම් කරන්නේ ආදම් සහ ඒව පාපයට වැටුණු ආකාරයයි. එසේ ම අප ද නිතර ම දෙවි පියාණන් වහන්සේට කිට්ටුවෙන් නොසිටියහොත් ආදිමවුපියන් රැවටූ ආකාරයට සාතන් අප ද නිසැක ව රවටනු ඇත. විශේෂයෙන් දුර්පරීක්ෂාවල දී හෘද සාක්ෂියට සවන් දී එයට අවනත විය යුතු ය. පාප පරීක්ෂාවලට නොවැටී ඒවා ජය ගත යුතු ය. දුර්පරීක්ෂා ජය ගත් ජේසුස් වහන්සේ අපි අනුගමනය කළ යුතු වෙමු.

පාපයේ ප්‍රතිඵල
(උත්පත්ති 3:14-19)

**සර්පයා**

1. සර්පයා සාප ලැබීම
2. උඹ ජීවිතය පුරාවට ම උරගා යමින් දූවිලි කෑම

**ඒව**

1. ගැබ් ගැනීම වේදනාවක් වීම
2. විලිරුදාව ඇති ව දරුවන් බිහි කිරීම
3. සැමියාට ආදරය කළ ද ඔහු ඇය ව පාලනය කිරීම

**ආදම්**

1. පොළොව සාප ලැබීම
2. දිවි ඇති තාක් වෙහෙස මහන්සි වී ආහාර ලබා ගැනීම
3. පොළොවෙන් කටු පඳුරු හා වල්පැළෑටි බිහිවීම
4. වනයේ පලා කෑම
5. භූමියෙන් වූ මිනිසා යළි භූමියට යන තෙක් ඩහදිය මහන්සියෙන් ආහාර සපයා ගැනීම

දෙවියන් වහන්සේ ආදි මවුපියන්ට දඬුවම් කළේ වෛරයෙන් නොව ප්‍රේමයෙනි. අප වරදක් කළ විට දෙමාපියන් දඬුවම් කරන්නේ අපට ඇති ආදරය නිසා ය. එය අප තේරුම් ගත යුතු ය.

දෙවියන් වහන්සේට අකීකරු වූ ආදම් සහ ඒවට අනුකම්පා කර දෙවියන් වහන්සේ ඔවුන්ට විමුක්තියේ පොරොන්දුවක් දුන් සේක. පාපයට වැටුණු මිනිසාට නොවෙනස් ව ප්‍රේම කළ දෙවියන් වහන්සේ ඔහු ව පාපයෙන් ගලවා ගැනීමට ගැලවුම්කරුවකු එවීමට පොරොන්දු වූ සේක. එම පොරොන්දුව උත්පත්ති 3:15 වගන්තියේ මෙසේ සඳහන් වේ.

> තා සහ ස්ත්‍රිය අතර ද තගේ වංශය හා ඈගේ වංශය අතර ද බද්ධ වෛරය තබන්නෙමි. ඔහු තගේ හිස පොඩි කරන්නේ ය. තෝ ද ඔහුගේ විලුඹ දෂ්ට කරන්නෙහි ය.
>
> (උත්පත්ති 3:15)

මේ පොරොන්දුවේ ස්ත්‍රියගේ වංශය යනුවෙන් හැඳින්වෙන්නේ මානව වංශය යි. සර්පයා සාතන් ය. යක්ෂයාත් මිනිසාත් අතර සදහට ම වෛරයක් පවතින බව මෙයින් කියැවේ.

"ඔහු තගේ හිස පොඩි කරන්නේ ය" යන වැකියෙහි "ඔහු" යනුවෙන් අදහස් කරන්නේ ගැලවුම්කරුවාණන් වූ ජේසු සමිඳාණන් වහන්සේ ය. අකීකරු වූ මිනිසාට පවා ඉතා ආදරය කළ දෙවියන් වහන්සේ පාපයේ වහල්කමින් මිනිසා මුදා ගැනීම සඳහා ගැලවුම්කාරයකු එවන බව එම පොරොන්දුව තුළ ගැබ් වී තිබේ.

> දෙවි සමිඳාණන් වහන්සේ හම් වස්ත්‍ර සාද ආදම්ට සහ ඔහුගේ භාර්යාවට හැඳවූ සේක.
>
> (උත්පත්ති 3:21)

ආදම් සහ ඒවට හම් වස්ත්‍ර සාද දීමෙන් පෙන්නුම් කරන්නේ දෙවියන් වහන්සේගේ කරුණාව ආදරය හා රැකවරණයයි. මිනිස් දුර්වලතා අභියස දෙවියන් වහන්සේ අපට ද කරුණාව දක්වන සේක. එම නිසා අප ද අන් අයට කරුණාව දැක්විය යුතු ය.

### ක්‍රියාකාරකම

1. දේව හඬට සවන් නොදී වැරදි මඟට යොමු වූ පාසල් මිතුරෙකුට/මිතුරියකට ඔබ දෙන මඟ පෙන්වීම් **තුනක්** ලියන්න.
2. දුර්පරීක්ෂාවක් පැමිණි විට ඔබ ඉන් ජය ගන්නා ආකාරය ලියා දක්වන්න.
3. උත්පත්ති 3:15 වගන්තිය ලියා ඉන් ලැබෙන පණිවිඩය විස්තර කරන්න.
4. දෙවියන් වහන්සේ ආදම් සහ ඒවට කරුණාව දැක්වූවාක් මෙන් ඔබ අන් අය සමග දේව කරුණාව බෙදා ගන්නා ආකාර **තුනක්** ලියා විස්තර කරන්න.

**ජීවිතයට බිඳක්**

- *නිතර ම දේව හඬට ඇහුම්කන් දෙමු.*
- *දුර්පරීක්ෂා ජය ගනිමු.*
- *දේව කරුණාව අන් අය සමග බෙදා ගනිමු.*

# 7 කායින් හා ආබෙල්



7.1 රූපය - කායින් හා ආබෙල් පඬුරු ඔප්පු කරන අවස්ථාව

ආදම් සහ ඒව යන දෙදෙනාට කායින් සහ ආබෙල් නම් පුත්තු දෙදෙනෙක් වූහ. ආබෙල් බැටළු එඬේරෙක් විය. කායින් ගොවියෙක් විය. කලක් ගත වූ පසු කායින් පොළොවෙන් නිපදවූ අස්වැන්න පඬුරක් වශයෙන් සමිඳාණන් වහන්සේට පූජා කළේ ය. ආබෙල් ද සිය බැටළු රැළේ කුලුඳුල් පැටවුන්ගෙන් සමහරෙකු ද ගෙන සමිඳාණන් වහන්සේට පූජා කළේ ය. සමිඳාණන් වහන්සේ ආබෙල් සහ ඔහුගේ පඬුර සතුටින් පිළිගත් සේක. එහෙත් උන්වහන්සේ කායින් සහ ඔහුගේ පඬුර නොපිළිගත් සේක. එම නිසා කායින් තදින් කිපී ආබෙල්ට ඊර්ෂ්‍යා කළේ ය. එබැවින් දෙවියන් වහන්සේ කායින්ට අවවාද කළ සේක.

සමිඳාණන් වහන්සේ ද කායින්ට කතා කොට, "නුඹ මෙතරම් කිපී, දුර්මුඛ වී සිටින්නේ මන් ද? නුඹ යහපත කරන්නෙහි නම් නුඹ පිළිගනු ලබන්නෙහි ය. නුඹ අයහපත කරන්නෙහි නම් පාපය රකුසකු සේ නුඹේ දොරකඩ ලැග සිටින්නේ ය. ඌ නුඹ මැඩලීමට බලාගෙන සිටියි; එහෙත්, නුඹට ඌ දමනය කළ හැකි ය"යි වදාළ සේක.

(උත්පත්ති 4:6-7)

තම සහෝදර ආබෙල් ගැන දෙවියන් වහන්සේ ප්‍රසන්න වූ බව දැන ගත් කායින් ඊර්ෂ්‍යාවෙන් පිරී කෝපයෙන් කල් ගත කළේ ය. කායින් නපුරෙන් පිරී නොමඟ යන බව දැනගත් දෙවියන් වහන්සේ අයහපත් සිතුවිලි පසෙක දමා යහපත් පුද්ගලයකු වන ලෙස ඔහුට අවවාද කළ සේක. ඔහු යහපත් වීමට උත්සාහ කළොත් දෙවියන් වහන්සේ ඔහුට උදව් වීමට ද පොරොන්දු වූ සේක.

අප වැරදි කරන විට ද දෙවියන් වහන්සේ විවිධ පුද්ගලයන් මගින් අපට ද අවවාද කරන සේක. ඒ අය නම් ආගමික නායකයන්, දෙමවුපියන්, ගුරුවරුන් හා වැඩිහිටියන් ය. අපට නිවැරදි මඟ පෙන්වන අයට අප ඇහුම්කන් දිය යුතු ය.



7.2 රූපය - කායින් විසින් ආබෙල් මරා දැමීම

කායින් සිය සොහොයුරු ආබෙල් අමතා, "අපි එළිමහනේ කෙතට යමු"යි කී ය. මෙසේ ඔවුන් ගිය විට කායින් සිය සොහොයුරු ආබෙල්ට විරුද්ධ ව නැඟිට ඔහු මරා දැමී ය.

(උත්පත්ති 4:8)

කායින් තම සහෝදරයා වන ආබෙල් මරා දැමීම තුළින් අපට පෙන්නුම් කරන්නේ මිනිසා සහෝදර ප්‍රේමයට විරුද්ධ ව කටයුතු කළ ආකාරයයි. ඊර්ෂ්‍යාවෙන් පිරී කායින් සහෝදර ප්‍රේමයට පිටුපා යමින් තම සහෝදරයා මරා දැමූ ආකාරයයි. දේව දරුවන් ලෙස අප අන් අය සමග සහෝදර ප්‍රේමයෙන් ජීවත් විය යුතු ය. අන් අයට ඊර්ෂ්‍යා නොකළ යුතු ය. අන් අයගේ දියුණුව හමුවේ සතුටු විය යුතු ය. අන් අයගේ ජීවිත ආරක්ෂා කළ යුතු ය.

දෙවියන් වහන්සේගේ අවවාදයට පිටුපා වරදට වැටුණු කායින්ගෙන් දෙවියන් වහන්සේ ප්‍රශ්න කළ සේක.

සමිඳාණන් වහන්සේ : ඔබේ සහෝදරයා වූ ආබෙල් කොහේ ද?

කායින් : මම නොදනිමි. මම මාගේ සහෝදරයාගේ භාරකරු ද?

සමිඳාණන් වහන්සේ : නුඹ කළ මේ දේ කුමක් ද? බලන්න, නුඹේ සහෝදරයාගේ ලේ පොළොවෙන් මට මොර ගසයි.

වරදට වැටුණු කායින්ට දුන් දඬුවම් සහ එහි ප්‍රතිඵල මෙසේ ය;

1. සාප ලද්දෙක් වීම
2. පොළොවන් නෙරපා දැමීම
3. වගා කරන විට පලදාව නොදීම
4. ගෙයක් දොරක් නැති මිහි පිට ඉබාගාතේ යන මිනිසකු වීම

දෙවියන් වහන්සේ කායින්ගෙන් ආබෙල් පිළිබඳ ව විමසූ විට ඔහු පවසන්නේ, "මම නොදනිමි" කියා ය. ඔහු බොරු කියයි. මෙයින් පෙනී යන්නේ, පාපයේ වර්ධනය හා ඒ කරණ කොටගෙන මිනිසා දරුදඬු වීම ය. හොරෙන් වරදක් කළත් දෙවියන් වහන්සේගෙන් වසන් කළ නොහැකි ය. කායින්ට දෙවියන් වහන්සේ දඬුවම් කළ ද ඔහුට දෙවියන් වහන්සේ කරුණාව දැක්වූ බව පහත වගන්තිවලින් පෙන්නුම් කරයි.

කායින් සමිඳාණන් වහන්සේට කතා කොට, "මාගේ දඬුවම දැරිය නොහැකි තරම් දරුණු ය. ඔබ මෙදින මේ පොළොවෙන් මා නෙරපාදමන සේක. මා ඔබගෙන් සැඟවී, ගෙයක් දොරක් නැති, මිහි පිට ඉබාගාතේ යන්නෙකු විය යුතු ය. මා හමුවට එන කවරෙක් වේ වා, මා මරා දමනු ඇතැ"යි කීය. එහෙත්, සමිඳාණන් වහන්සේ උත්තර දෙමින්, එසේ නොවනු ඇත. යම් කෙනෙක් කායින් මැරුවොත් ඔහුගෙන් එමෙන් සත් වරක් දරුණු ලෙස, පළිගනු ලබන්නේ ය"යි වදාළ සේක. එබැවින් සමිඳාණන් වහන්සේ ද යමෙකුට කායින් මුණ ගැසුණොත් කායින් නොමරන පිණිස ඔහු පිට ලකුණක් තැබූ සේක.

(උත්පත්ති 4:13-15)

ඉහත බයිබල් පාඨයට අනුව යම් කෙනෙක් කායින් ව මැරුවොත් ඔහුගේ දඬුවම එමෙන් සත් වරක් දරුණු බව පවසයි. මෙයින් පෙන්නුම් කරන්නේ වරදකරුවාගේ

පවා ජීවිතයේ අයිතිය දෙවියන් වහන්සේ සතු බව ය. අනුන් විනිශ්චය කිරීමට අපට අයිතියක් නැත. සමිඳාණන් වහන්සේ කායින් පිට තැබූ "සලකුණ" දණ්ඩනයේ නොව දේව රැකවරණයේ ලාංඡනයකි. මෙයින් අපට පෙන්නුම් කරන්නේ, ස්වාමීන් වහන්සේ වෙත හැරී කන්නලව් කරන පව්කාරයාට පවා උන්වහන්සේ දයා කරුණාව දක්වන බව ය. අප සැම විට ම පාපයෙන් ඈත් විය යුතු ය. ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, මිනී මැරීම ආදියෙන් අප ඈත් විය යුතු ය. අපි සැම විට ම සහෝදර ප්‍රේමයෙන් ජීවත් විය යුතු වෙමු.

## ක්‍රියාකාරකම

1. කායින් ආබෙල් කථා පුවත තුළින් ඔබේ ජීවිතයට ගත හැකි මඟ පෙන්වීම් **තුනක්** ලියන්න.
2. අප වැරදි කරන විට අපට මඟ පෙන්වීම් ලබා දෙන පුද්ගල කාණ්ඩ **හතරක්** නම් කරන්න.
3. ඊර්ෂ්‍යාව ජය ගැනීමට කළ හැකි කාර්ය **තුනක්** ලියන්න.

### ජීවිතයට බිඳක්

★ *අන් අයට ඊර්ෂ්‍යා නොකරන්න.*

★ *අපට නිවැරැදි මඟ පෙන්වන අයට ඇහුම්කන් දෙන්න.*

★ *සැම විට ම සහෝදර ප්‍රේමයෙන් ජීවත් වෙන්න.*

# 8 ජල ගැල්ම හා නෝවා සමග ගිවිසුම



81. රූපය - නෝවාගේ නැව

ලෝ වැසි සෙසු හැම දෙන ම දෙවියන් වහන්සේ අබිමුවෙහි දූෂ්‍ය වී සිටියහ; ඔව්හු සැහැසිකමින් පිරී සිටියහ. දෙවියන් වහන්සේ ලෝකය දෙස බලා එය දූෂ්‍ය වී ඇති බව දුටු සේක. මිහිපිට මිනිසාගේ කල්ක්‍රියා දරුණු ලෙස දූෂ්‍ය වී තිබුණේ ය.

(උත්පත්ති 6:11-12)

ඉහත බයිබල් පාඨයෙන් අපට පෙන්නුම් කරන්නේ ජල ගැල්මට හේතුව ලොව පුරා පැතිර ඇති මනුෂ්‍යයාගේ දුෂ්ටකම බව ය. පාපය නිසා දෙවියන් වහන්සේ ශෝක වන බවත්, එම නිසා උන්වහන්සේ දඬුවම් කරන බවත් බයිබල් කතුවරයා පෙන්නුම් කරයි. මැවිල්ලේ මුදුන්මල්කඩ වූ මනුෂ්‍යයාගේ පාපය මුළු මහත් මැවිල්ලටම විනාශකාරී ලෙස බලපාන ආකාරය නෝවා හා ජලගැල්ම තුළින් අපට පෙන්නුම් කරයි.

දෙවියන් වහන්සේ නෝවාට කතා කොට මෙසේ වදාළ සේක; "සියලු මිනිසුන් වනසාලීමට මා තීරණය කර ඇත. මන්ද මිනිසා නිසා පොළෝ තලය ම සැහැසිකමින් පිරී තිබේ. එබැවින් මම ඔවුන් සමග පොළෝ තලය විනාශ කරදමමි."

(උත්පත්ති 6:13)

ඉහත බයිබල් පාඨයෙන් අපට පෙන්නුම් කරන්නේ ජල ගැල්මේ පරමාර්ථය මිනිසා විනාශ කිරීම නොව මිනිස් වර්ගයා දෙවියන් වහන්සේගෙන් ඈත් කරන අයහපත ලොවෙන් තුරන් කිරීමයි.




ඉහත රූප සටහනේ පෙන්නුම් කරන්නේ වර්තමාන සමාජය තුළ ඇති පාපී ක්‍රියා ය. මෙම පාපී ක්‍රියා මුළු මහත් මැවිල්ලට ම විනාශකාරී ලෙස බලපායි. මෙම පාපී ක්‍රියා තුරන් කිරීමට ඔබට ගත හැකි පියවර මොනවා දැයි සිතා බලන්න. අප සැම විට ම පාපී ක්‍රියා ප්‍රතික්ෂේප කළ යුතු ය.



8.2 රූපය - නෝවා පුතුන් සමග

උත්වහන්සේ අබිමුවෙහි නෝවා කරුණාව ලැබී ය. ..... ඔහු සත්ගුණවත් මිනිසෙකි. ඔහුගේ පරම්පරාවේ නිදොස් මිනිසා ඔහු විය. ඔහු දෙවියන් වහන්සේ සමග සුහදතාවෙන් හැසුරුණි ය. තවද, ඔහුට ෂෙම්, හාම්, ජපෙත් කියා පුත්තු තිදෙනෙක් උපන්හ.

(උත්පත්ති 6:8-10)

පාපය ක්‍රම ක්‍රමයෙන් ලොව පුරා වර්ධනය වී එහි විනාශකාරී බලය තහවුරු වුවත් දෙවියන් වහන්සේ මනුෂ්‍යයාට ගැලවීමේ නව මංපෙත් විවර කළ සේක. පාපයෙන් දූෂණය වූ මැවිල්ල විනාශ කිරීමට උත්වහන්සේ තීරණය කළත්, නෝවාගේ පවුල හා සියලු සතුන්ගේ නියෝජිතයන් බේරා ගැනීමෙන් පෙන්නුම් කරන්නේ උත්වහන්සේගේ දයා කරුණාව ය. එම නිසා නෝවා නව මැවිල්ලක ආරම්භකයා වශයෙන් තෝරා ගනු ලබයි. නෝවා තෝරා ගත්තේ ඔහුගේ යහපත්කම කරණ කොට ගෙන ය.

නෝවා මෙන් අප ද සත් ගුණවත් මිනිසුන් ලෙස ජීවත් විය යුතු ය. එසේ ම අවංකව ජීවත් විය යුතු ය. නෝවා ධර්මිෂ්ඨ ලෙස ජීවත් වූවාක් මෙන් අපත් ධර්මිෂ්ඨ ලෙස ජීවත් විය යුතු ය. එවිට අපට ද දේව කරුණාව ලැබේ.



8.3 රූපය - ජල ගැල්ම

නෝවාට වයස අවුරුදු හයසීයයේ දී දෙවන මාසයේ හරියට ම දාහත් වන දින මහා සමුද්‍රයේ සියලු උල්පත් බිඳී ජලය ගලා ගියේ ය. අහසේ කවුළු විවෘත විය.

(උත්පත්ති 7:11)

දෙවියන් වහන්සේ නෝවාට දුන් පොරොන්දුව ඒ ආකාරයෙන් ම සඵල විය. නෝවා ජල ගැල්මෙන් බේරිණි.

නෝවා තුළ තිබූ උතුම් ගුණාංග සමුදාය නිසා දෙවියන් වහන්සේ විශේෂ සැලකිල්ලට යොමු වූ අයුරුත් උන්වහන්සේගේ මිත්‍රත්වයේ හස්තය ඔහු වෙත දිගුකළ අන්දමත් ශුද්ධ බයිබලය පැහැදිලි ව පෙන්වා දී ඇත. දෙවියන් වහන්සේගේ දයා කරුණාව ලබා ගැනීම සඳහා අප ගමන් කළ යුතු මාර්ගය සම්බන්ධයෙන් නෝවාගේ ජීවිතයෙන් ලැබෙන්නේ සර්ව කාලීන වටිනාකමක් ඇති උසස් ආදර්ශයකි.

සමිඳාණන් වහන්සේ ඒ යාග පූජාවන්හි මිහිරි සුවඳ ආඝ්‍රාණය කර මෙසේ සිතා ගත් සේක; "මිනිසා නිසා මින් මතු කවදා වත් මම පොළොවට සාප නොකරමි; යොවුන් වියේ පටන් මිනිසාගේ සිත නපුරට ඇදී යන බව මම දනිමි; මා මෙවර කළාක් මෙන් මින් මතු කවදාවත් සියලු ජීවමාන සතුන් විනාශ නොකරන්නෙමි."

(උත්පත්ති 8:21)

නැවත මුළු ලොව ම ජලයෙන් විනාශ නොකිරීමට දෙවියන් වහන්සේ තීරණය කර ප්‍රතිඥාවක් දෙන සේක. එම ප්‍රතිඥාව පහත බයිබල් පාඨ තුළින් පෙන්නුම් කරයි. උන්වහන්සේගේ දයා කරුණාව ද මනාව පෙන්නුම් කරයි. එමෙන් ම එය දේව ආරක්ෂාව හා දේව සංරක්ෂණය මතු පාපයට ගොදුරු වන මනුෂ්‍යයාට ද ලැබෙන බවට සහතිකයකි.

> මා හා නුඹලා ද, සියලු ජීවමාන සතුන් ද අතර මින් මතු කවදාවත් ජල ගැල්මකින් සියලු ජීවමාන සතුන් විනාශ නොකිරීමට පිහිටුවා ගත් ගිවිසුම සිහි කරන්නෙමි.
>
> (උත්පත්ති 9:15)



8.4 ජල ගැල්මෙන් පසු

> දෙවියන් වහන්සේ කතා කොට, "මා හා නුඹලා ද, නුඹලා සමග සිටින සියලු ජීවමාන සතුන් ද අතර, මතු සියලු පරම්පරාවන් සඳහා මා පිහිටුවන ගිවිසුම් ලකුණ නම් මෙය යි. වලාකුළුවල මම මාගේ දේදුන්න තබමි; මා හා ලෝකයා අතර පිහිටුවන ලද ගිවිසුම් ලකුණ එය වන්නේ ය.
>
> (උත්පත්ති 9:12-13)

දෙවියන් වහන්සේ තමන් වහන්සේ හා මුළු මැවිල්ල සමග ගිවිසුමක් කළ සේක. "දේදුන්න" එම ගිවිසුම සනාථ කරන සංකේතයක් ලෙස දක්වයි. එය දෙවියන් වහන්සේ මිනිසා සමග කරන ඒක පාර්ශ්වික ගිවිසුමකි.

දේදුන්න වැහි කුණාටු අවසන් වීම දක්වන සලකුණක් විය. ඒ අනුව දිව්‍ය සංරක්ෂණය එමගින් සංකේතාත්මක ව ඉදිරිපත් කරයි. පුරාණ ගිවිසුමේ දේදුන්න දේව අනුකම්පාවේ, කරුණාවේ හා ප්‍රේමයේ සංකේතයක් විය. දෙවියන් වහන්සේ නැවත වරක් මුළු ලෝකය ම ජලයෙන් විනාශ නොකරන බවට දෙන පොරොන්දුව ගිවිසුමක් මගින් මිනිසා හා තම සම්බන්ධතාව යළි ගොඩනංවන සේක. දේදුන්න නෝවා සමග ගිවිසුමේ බාහිර සලකුණ ය.

දෙවියන් වහන්සේ නෝවා සමග ඇති කර ගත් ගිවිසුමේ පොරොන්දුව ඉටු කළ සේක. එමෙන් ම අප ද සැම විට ම අන් අයට දෙන පොරොන්දු ඉටු කළ යුතු ය. නිවසේ දී පාසලේ දී මීසමේ දී අන් අයට දෙන පොරොන්දු ඉටු කළ යුතු ය.

### ක්‍රියාකාරකම



1. අද සමාජයේ ඇති පාපී ක්‍රියා තුරන් කිරීමට පාසල් සිසුවකු වශයෙන් ඔබට ගත හැකි ක්‍රියාමාර්ග **පහක්** ලියන්න.
2. අන් අයට දේව කරුණාව දැක්වීම සඳහා මීසම තුළ ඔබට ගත හැකි ක්‍රියාමාර්ග **තුනක්** ලියන්න.
3. ඔබේ දෙමාපියන්ට, ගුරුවරුන්ට, යහළුවන්ට දුන් පොරොන්දු ඉටු කරන ආකාර පහත වගුවේ ලියා දක්වන්න.

| දෙමාපියන් | ගුරුවරුන්ට | යහළුවන්ට |
|---|---|---|
| 1 ................................ | 1 ................................ | 1 ................................ |
| 2 ................................ | 2 ................................ | 2 ................................ |
| 3 ................................ | 3 ................................ | 3 ................................ |

4. නෝවාගේ ජීවිතයෙන් ඔබට ගත හැකි ආදර්ශ **තුනක්** ලියන්න.



**ජීවිතයට බිඳක්**

★ *පාපය ප්‍රතික්ෂේප කරන්න.*

★ *අන් අයට දෙන පොරොන්දු ඉටු කරන්න.*

★ *අවංක ව ජීවත් වන්න.*

# 9 වීර නායකයෝ

මිසරයේ වහල්කමින් මිදී ඉශ්රායෙල් ජනතාව පොරොන්දු දේශයට පැමිණියෝ ය. එම දේශයෙහි පදිංචි වීමෙන් පසු ව ද ඔවුන්ට විවිධ ජාතීන්ගෙන් බොහෝ කරදර, හිරිහැර අමාරුකම් ආදියට මුහුණදීමට සිදු විය. බාහිර ආක්‍රමණවලින් හා බලපෑම්වලින් ඉශ්රායෙල් ජනතාව මුදාගෙන ඔවුන්ගේ ජීවිත සාර්ථක කර ගැනීමට දෙවියන් වහන්සේ වීර නායකයන් පත් කළ සේක. වීර නායකයන් පත් කිරීම ගැන වීරාවලියෙහි මෙසේ සඳහන් කරයි.

> ඉශ්රායෙල් සෙනඟ කොල්ලකෑ අයගෙන් ඔවුන් ගලවා ගන්නා පිණිස ස්වාමීන් වහන්සේ වීර නායකයන් පත් කළ සේක.
>
> (වීරාවලිය 2:16)

වීර නායකයන් සිටි කාලය ක්‍රි.පූ. 1200-1050 දක්වා විය. වීර නායකයින්ගේ කාලය පිළිබඳ විස්තර අධ්‍යයනය කිරීමේ දී පෙනී යන එක් කරුණක් නම්, ඔවුන්ගේ නායකත්වය මුළු ඉශ්රායෙල් ජාතිය කෙරෙහි ම නොවූ බව ය. වීර නායකයන්ගේ මූලික කාර්ය වූයේ, ඉශ්රායෙල්වරුන්ට එල්ල වූ යුද්ධවල දී යුද නායකත්වය දෙමින් හා ජුදා ජනතාව එක්සත් කරමින් ජාතියක් වශයෙන් ගොඩනැගීමට අවශ්‍ය පදනම සකස් කිරීමට ක්‍රියා කිරීම ය.

> ස්වාමීන් වහන්සේ ඔවුන්ට වීර නායකයන් පත් කර දුන් විට, උන්වහන්සේ වීර නායකයන් සමඟ සිට, ඔවුන්ගේ මුළු ජීවිත කාලය තුළ ඉශ්රාලේවරුන් සතුරන්ගේ අතින් ගැළවූ සේක. ඔවුන්ට පීඩා කළා වූ ද ඔවුන් පොඩි කළා වූ ද අය කරණ කොටගෙන හටගත් ඔවුන්ගේ කෙඳිරිගෑම නිසා සමිඳාණන් වහන්සේ ඔවුන්ට අනුකම්පා කළ සේක.
>
> (වීරාවලිය 2:18)

මෙම ප්‍රකාශයෙන් සනාථ වන්නේ යාවේ දෙවියන් වහන්සේ ජුදා ජනතාව ආරක්ෂා කර ගැනීමට වීර නායකයන් පත් කළා පමණක් නොව, ඔවුන් සමඟ සිටිමින් ජුදා ජනතාවගේ ගැලවීම වෙනුවෙන් කටයුතු කළ බව ය.

ශුද්ධ බයිබලයේ වීර නායකයන් 12 දෙනෙකු ගැන සඳහන් වේ. ඔවුන්ගේ නම් මෙසේ ය.

| | | |
|---|---|---|
| 1. ඔත්නියෙල් | 5. ගිඩියොන් | 9. ඉබ්ශාන් |
| 2. ඒහුද් | 6. තෝලා | 10. ඒලොන් |
| 3. ෂම්ගර් | 7. ජායිර් | 11. අබ්දොන් |
| 4. දෙබෝරා | 8. ජෙප්තා | 12. සැම්සොන් |

## දෙබෝරා නම් වීර නායිකාව


9.1 රූපය - දෙබෝරා නම් වීර නායිකාව

දෙබෝරා ඉතා නැණවත් කාන්තාවකි. ඇයගේ කාලයේ දී කානානීය රජෙක් ඉශ්රායෙල්වරුන්ට පීඩා කළේ ය. එම පීඩා නිසා ඉශ්රායෙල් ජනතාව දෙවියන් වහන්සේට මොර ගැසූහ. දෙබෝරාගේ උපදෙස් පරිදි බාරාක් විසින් දස දහසක් වූ සේනාවක් කානානීය හමුදාවට විරුද්ධ ව මෙහෙයවන ලදි. බාරාක්, තාබෝර් කන්දට පැමිණි බව දැනගත් කානානීයවරු ඔවුන් හා සටනට සූදානම් වූහ. කානානීය හමුදවට විරුද්ධ ව යුධ වැදීමට ඉශ්රායෙල් හමුදපති බාරාක් ව දෙබෝරා දිරි ගැන්වූවා ය. දෙවියන් වහන්සේගේ වරප්‍රසාදය නිසා ඉශ්රායෙල් හමුදව ජයග්‍රහණය කළේ ය. මේ ජය ඉශ්රායෙල් හමුදවේ ජයග්‍රහණයක් නොවන බවත් එය ලබා දුන්නේ දෙවි ස්වාමීන් වහන්සේ බවත් දෙබෝරා ඔවුනට වටහා දුන්නා ය.

## ගිඩියොන් නම් වීර නායකයා


9.2 රූපය - ගිඩියොන් නම් වීර නායකයා

සතලිස් වසරක සාමකාමී කාලයකින් පසු යළිත් ජුදා වංශය දෙවියන් වහන්සේට විරුද්ධ ව පව් කළ නිසා එයට දඬුවමක් ලෙස ඔවුන්ට මිදියන්වරුන්ගෙන් පීඩා විඳින්නට සිදු විය. ඔවුන්ට සහනය සලසන මෙන් දෙවියන් වහන්සේගෙන් ඉල්ලා සිටියෙන් ඒ සඳහා වීර නායකයකු ලෙස ගිඩියොන් කැඳවනු ලැබී ය.

සමිඳාණන් වහන්සේගේ දූතයා ඔහුට පෙනී, "ධෛර්යවත්, බලවත් මනුෂ්‍ය ය. සමිඳාණන් වහන්සේ ඔබ සමග සිටින සේක"යි කී ය.

සමිඳාණන් වහන්සේ ඔහු දෙස බලා, "නුඹට ඇති බලසම්පන්නකම මෙහෙයවා, මිදියන්වරුන් අතින් ඉශ්රායෙල්වරුන් ගලවන්න. නුඹ යවන්නේ මම ය"යි වදාළ සේක.

(වීරාවලිය 6:12, 6:14)

ගිඩියොන් ද ඉශ්රායෙල්වරුන් බොරු දෙවිවරුන්ට තනා තිබුණු සියලු පූජාසන විනාශ කොට යුද්ධයට යාමට සේනා රැස් කළේ ය. එහෙත් දෙවියන් වහන්සේගේ නියමය පරිදි සිය යුද්ධ හමුදාව 300කට සීමා කළේ ය. ගිඩියොන්ගේ උපදෙස් පරිදි සෙබළුන් සියලු දෙනා මිදියන් කඳවුර වෙත ගොස් පන්දම් දමා ගෙන ගිය කළගෙඩි බිඳ දමා හොරණෑ පිම්බෝ ය. කලබලයකට පත් මිදියන් සේනාව එකිනෙකා තම තමන්ගේ කඩු ඇද ඔවුන් එකිනෙකා මරා ගත්හ.

## සාමුවෙල් නම් විනිශ්චයකාරවරයා



9.3 රූපය - සාමුවෙල් නම් විනිශ්චයකාරවරයා

සාමුවෙල් ජීවිතාන්තය දක්වා ඉශ්රායෙල්වරුන් විනිශ්චය කළේ ය. ඔහු වසරක් පාසා වසරක් බෙතෙල්ටත්, ගිල්ගාල්ටත් මිශ්පාටත් පිළිවෙළින් ගොස් ඒ ඒ ස්ථානවල දී ඉශ්රායෙල්වරුන් විනිශ්චය කළේ ය. ඉන්පසු ඔහු රාමා නගරයට ගියේ ය. මන්ද ඔහුගේ ගෙය තිබුණේ එහි බැවිනි. එහි දී ද ඔහු ඉශ්රායෙල්වරුන් විනිශ්චය කළේ ය. තව ද ඔහු එහි සමිඳාණන් වහන්සේට පූජාසනයක් ගොඩ නැගුවේ ය.

(1 සාමුවෙල් 7:15-17)

- ⋆ සාමුවෙල් අවසාන විනිශ්චයකාරයා ය.
- ⋆ දිවැසිවරයෙකි.
- ⋆ සාමුවෙල් පූජකයෙකි.
- ⋆ සාමුවෙල්, සාවුල් හා දාවිත් රජකමට අභිෂේක කළේ ය.



9.4 රූපය - සාමුවෙල්, සාවුල් අභිෂේක කිරීම



9.5 රූපය - සාමුවෙල්, දාවිත් අභිෂේක කිරීම

වීර නායකයන්ගේ අපට ගත හැකි ආදර්ශ

- ★ අන් අයගේ යහපත වෙනුවෙන් ක්‍රියා කිරීම.
- ★ අන් අය මුහුණදෙන ගැටලුවල දී උදවු කිරීම.
- ★ ප්‍රශ්න හා ගැටලුවල දී වීර නායකයන් මෙන් දෙවියන් වහන්සේට යාච්ඤා කිරීම.
- ★ දෙවියන් වහන්සේ අප සමග සෑම විට ම සිටින බව විශ්වාස කිරීම.

**ක්‍රියාකාරකම**



1. වීර නායකයන් දොළොස් දෙනා නම් කරන්න.
2. වීර නායකයන්ගේ මූලික කාර්ය වූයේ කුමක් ද?
3. අන් අයගේ යහපත වෙනුවෙන් පාසල තුළ දී ඔබට කළ හැකි කාර්යයන් තුනක් ලියන්න.

**ජීවිතයට බිඳක්**

*අන් අයගේ යහපත වෙනුවෙන් සෑම විට ම කටයුතු කරමු.*

# 10 රජවරු

ඉශ්රායෙල් ජනතාවට විවිධ අභියෝග පැමිණෙන විට ප්‍රබල රාජ්‍ය නායකයකු යටතේ සංවිධානය වීමේ අවශ්‍යතාව වඩ වඩාත් ඔවුන්ට දැනෙන්ට විය. ඉශ්රායෙල්හි හුදකලා ව විසිරී සිටි ගෝත්‍ර එක්සත් කර බලවත් ජාතියක් ගොඩනගනු සඳහා නායකයකු අවශ්‍ය බව ඉශ්රායෙල්වරුන්ට වැටහිණි. මේ අදහස මහලු වියේ සිටි සාමුවෙල්ට දැන්වූහ. ඔවුන්ට රජෙකු ලබා ගැනීමේ ආශාව සාමුවෙල්ට අවධාරණය කළහ. සාමුවෙල් මුලින් මේ අදහසට විරුද්ධ විය. එහෙත් ජනතාවගේ දැඩි ඉල්ලීම නිසා ඔවුන්ට රජ කෙනෙකු පත් කරන ලෙස දෙවියන් වහන්සේ සාමුවෙල්ට නියම කළ සේක.

ඉශ්රායෙල්වරුන්ගේ සියලු ප්‍රජා මූලිකයෝ එක් රැස් වී රාමාහි සිටි සාමුවෙල් වෙත අවුත්, ඔහුට කතා කොට, "ඔබ මහලු ව සිටින්නෙහි ය. ඔබේ පුත්‍රයෝ ඔබේ අඩි පාරෙහි ගමන් නොකරති. ඉතින් අන් ජාතීන්ට මෙන් අප පාලනය කරන පිණිස අපටත් රජ කෙනෙකු පත් කළ මැනවැ"යි කීහ. අප පාලනය කරන පිණිස අපට රජ කෙනෙකු දුන මැනවැ"යි කී කීම ගැන සාමුවෙල් අසතුටු වී සමිඳාණන් වහන්සේට යාච්ඤා කළේ ය. සමිඳාණන් වහන්සේ ඔහුට කතා කොට, "සෙනඟ නුඹට කී සියල්ල ගැන ඔවුන්ගේ හඬට සවන් දෙන්න. ඔවුන් ප්‍රතික්ෂේප කර ඇත්තේ නුඹ නොවේ ඔවුන් ප්‍රතික්ෂේප කර ඇත්තේ මා ය. මන්ද, මා ඔවුන් කෙරෙහි රජකම් කිරීමෙන් වළක්වන පිණිස මා ඔවුන් මිසර දේශයෙන් ගෙනා දා පටන් අද දවස දක්වා ඔව්හු මා අත්හැර අන් දෙවිවරුන්ට වැඳුම්පිදුම් කළෝ ය. ඔව්හු සැම කල්හි ම මට කළ දේ දැන් නුඹටත් කරති. දැන් ඉතින් ඔවුන්ගේ හඬට ඇහුම්කන් දෙන්න. එසේ වී නමුත්, ඔවුන් කෙරෙහි රජකම් කරන රජු ඔවුන් සම්බන්ධයෙන් ක්‍රියා කරන අන්දම ගැන ඔවුන්ට විස්තර කර දෙන්නැ"යි වදාළ සේක.

(1 සාමුවෙල් 8:4-9)

## සාවුල් රජතුමා



10.1 රූපය - සාවුල් රජතුමා

ඉශ්රායෙල් දේශයේ ප්‍රථම රජු සාවුල් ය. අද්විතීය පෞරුෂයකින් හෙබි තරුණ සාවුල් බෙන්ජමින්ගේ ගෝත්‍රයේ කිෂ් නමැත්තාගේ පුත්‍රයා විය. සිය පියාගේ කොටලුවන් සොයා ගිය සාවුල්ට සාමුවෙල් හමුවූයේ අහම්බෙනි. සාමුවෙල්ට හමුවුණ සාවුල් දෙවියන් වහන්සේගේ නියමය අනුව රාජ ධුරයෙහි අභිෂේක කළ ආකාර පහත දැක්වේ.

සාමුවෙල් තෙල් කුලාව රැගෙන සාවුල්ගේ හිසේ වත් කොට, ඔහු සිඹ මෙසේ කීවේ ය; "සමිඳාණන් වහන්සේ ඉශ්රායෙල් සෙනඟ කෙරෙහි අධිපතියා කොට ඔබ අභිෂේක කරන සේක. ඔබ සෙනඟ පාලනය කොට ඔවුන් සියලු සතුරන්ගෙන් ගළවාගන්නෙහි ය. සමිඳාණන් වහන්සේ තමන් තෝරා ගත් සෙනඟගේ අධිපතියා වශයෙන් ඔබ පත් කළ බවට සාක්ෂිය මෙය වන්නේ ය;

(1 සාමුවෙල් 10:1)

අම්මෝන්වරුන්ගේ රජ වූ නාහාෂ්, ජුද නගරයේ සිටි ජනතාවගේ ඇස් උගුල්ලා දමමින් ගිවිසුමක් කිරීමට සැරසෙන බව ඇසූ සාවුල් මුළු මහත් ජුදා දේශයේ ම ජනතාව යුද්ධය සඳහා එක්සත් කිරීමෙහි සමත් විය. අම්මෝන්වරුන්ට විරුද්ධ ව කරන ලද සටනින් සාවුල් ජය ගත්තේ ය.

මින් අනතුරු ව සාවුල් රජුට මුහුණපාන්නට සිදු වූ බලවත් තර්ජනය එල්ල වූයේ පිලිස්තිවරුන්ගෙනි. සාවුල් රජතුමාගේ පුත් ජොනතන්ගේ උපායශීලි ක්‍රියාවකින් පිලිස්තිවරුන්ගේ සේනාව මෙහි දී පරාජය කරන්නට හැකි විය. එහෙත් සාවුල් රජතුමාගේ මුළු රාජ්‍ය කාලයේ දී ම පිලිස්තිවරුන් හා සටන් කරන්නට සිදු විය. කල්යත් ම ඔහු වඩා බලසම්පන්න යුද්ධ සේනාවක් ද ගොඩනැගුවේ ය.

ඉශ්රායෙල්වරුන්ගේ පළමුවන රජු වශයෙන් පත් වූ සාවුල්ට ස්වකීය ජාතියට විරුද්ධ ව සිටි සතුරන් පරාජය කළේ ය. සාවුල් රජු ඉශ්රායෙල් දේශය එක්සත් කොට ප්‍රබල රාජ්‍යයක් ගොඩනැගීමේ පුරෝගාමියා විය. සාවුල් රජ පිලිස්තිවරුන් හා සටන් කර මරණයට පත් විය.

## දවිත් රජතුමා



10.2 රූපය - දවිත් රජතුමා

දෙවියන් වහන්සේගේ අණට අකීකරු වූ සාවුල් වෙනුවට වෙනත් රජ කෙනෙක් පත් කර ගැනීමට දෙවියන් වහන්සේ සාමුවෙල්ට අණ කළ සේක. දෙවියන් වහන්සේගේ මඟ පෙන්වීම ඇති ව සාමුවෙල් ගමන් කළේ බෙත්ලෙහෙමෙහි විසූ ජුදා ගෝත්‍රයට අයත් ජෙස්සේ නමැත්තෙකුගේ නිවසට ය. එහි දී ජෙස්සේගේ පුත්‍රයන් අතුරෙන් රජ කෙනෙකු තෝරා ගැනීමට ඔහුට නියම විය. සාමුවෙල් වැඩිමහල් පුතු දෙස බලා මොහු සුදුසු යයි තමාට ම කියා ගනිද්දී දේව හඬ ඔහුට ඇසිණි: "ඔහුගේ පෙනීම දෙසවත්, ශරීරයේ උස මහත දෙසවත් නොබලන්න;" සමිඳාණන් වහන්සේ මිනිසා බලන්නාක් මෙන් නොබලන සේක. මිනිසා බලන්නේ බාහිර පෙනීම දෙස ය. එහෙත් සමිඳාණන් වහන්සේ බලන්නේ සිත දෙස ය"යි වදාළ සේක (1 සාමුවෙල් 16:7).

ජෙස්සේගේ පුත්‍රයෝ සත් දෙනෙක් සාමුවෙල් ඉදිරියට පමුණුවනු ලදහ. එයින් එක් කෙනෙකු වත් දෙවියන් වහන්සේ තෝරා නොගත් සේක. ජෙස්සේ පණිවිඩකාරයෙකු යවා බැටළුවන් බලා ගනිමින් සිටි දාවිත් ගෙන්වා ගත්තේ ය. ඔහු රතු පැහැයක් ද කඩවසම් පෙනුමක් ද දීප්තිමත් නෙත් යුවලක් ද ඇති කෙනෙක් විය.

දෙවියන් වහන්සේ සාමුවෙල්ට දවිත් ආලේප කරණ ලෙස අණ කළ සේක.

> සාමුවෙල් තෙල් කුළාව රැගෙන ඒ තැනැත්තා (දාවිත්) ඔහුගේ සහෝදරයන් ඉදිරියෙහි අභිෂේක කළේ ය. එදින පටන් ස්වාමීන් වහන්සේගේ ආත්මානුභාවය දාවිත් කෙරෙහි පිහිටිණි."
>
> (1 සාමුවෙල් 16:13)

සාවුල් රජුගේ සේනාව පිලිස්තිවරුන්ට විරුද්ධ ව දරුණු සටනක යෙදී සිටියේ ය. දාවිත්ගේ සහෝදරයන් තිදෙනෙක් යුද්ධ සේනාවට බැඳී සිටියෝ ය. දිනක් ජෙස්සේ තම පුත් දාවිත්ට කතා කොට, ඔහුගේ සහෝදරයන් ළඟට ගොස් ඔවුන්ට ආහාර දී ඔහුගේ සහෝදරයන්ගේ සැපදුක් විමසා, ඔවුන්ගේ තොරතුරු දැන ගෙන ආපසු එන ලෙස කීවේ ය. පිලිස්තිවරුන්ගේ නායකයා ගොලියත් නමැති යෝධයෙකි. ඉශ්රායෙල් වංශිකයෙකුට ඔහු හා සටනට එන ලෙස ඔහු අභියෝග කළේ ය. දාවිත් පමණක් ඒ අභියෝගය පිළිගෙන, දෙවියන් වහන්සේගේ නාමයෙන්, සටනට ඉදිරිපත් විය. ඔහු ගෙන ගියේ ගල් පටියක් සහ මට සිලුටු ගල් කැට පහක් පමණි.

දාවිත් ගොලියත්ට කතා කොට "තෝ කඩුවක් ද හෙල්ලක් ද කුන්තයක් ද රැගෙන මා ළඟට එන්නෙහි ය. මම වනාහි තා නින්දා කළ ඉශ්රායෙල් හමුදාවල සියලු බලැති දෙවි සමිඳාණන් වහන්සේගේ නාමයෙන් තා ළඟට එමි"

(1 සාමුවෙල් 17:45)

දාවිත් පිලිස්තියා දෙසට දුව ගොස්, මල්ලේ අත දමා එයින් ගලක් ගෙන, එය ගල් පටියෙන් විද්දේ ය. ඒ ගල ගොලියත්ගේ නළලට වැදී නළල ඇතුළට කා වැදුණේ ය. ඔහු මුණින්තළා බිමට වැටුණි. දාවිත් පිලිස්තියාගේ කඩුව කොපුවෙන් ඇද, එයින් ඔහුගේ හිස ගසා දමා ඔහු මැරුවේ ය. පිලිස්තිවරු තමන්ගේ යෝධයා මළ බව දැක පලා ගියෝ ය. එදා පිලිස්තිවරු අන්ත පරාජයට පත් වූහ.

### දාවිත් පාපයට වැටීම

දාවිත් පණිවුඩ යවා ස්ත්‍රිය ගැන විභාග කරවී ය. එක් කෙනෙක් කතා කොට, "ඇ එලියාම්ගේ දුව වන, හිත්තීය ජාතික උරියාගේ බිරිඳ වන බැත්-ෂෙබා නොවේද"යි කී ය. දාවිත් පණිවුඩකාරයන් යවා ඇ ගෙන්වා ගත්තේ ය.

(2 සාමුවෙල් 11:3-4)

ඔහු ඇය සමග අනියම් සම්බන්ධතාවක් ගොඩනඟා ගත්තේ ය. ඇය ගැබ්ගෙන, "මම ගැබ්ගෙන සිටිමි"යි දාවිත්ට දන්වා යැවුවා ය.

නාතාන් දිවැසිවරයා දාවිත් රජතුමාට උපමාවක් මගින් ඔහුගේ වරද පහදා දුන්නේ ය. නාතාන් දිවැසිවරයා උපක්‍රමශීලී ව දාවිත් රජතුමා කළ වරද පෙන්වා දෙමින් ඔහු යහමඟට ගත්තේ ය. නාතාන් දිවැසිවරයා මෙන් අපත් අන් අය වැරදි කරන විට එම වැරැද්ද ඔවුන්ට පෙන්වා දී ඔවුන් ව යහමඟට ගත යුතු ය.

### දාවිත්ගේ පසුතැවිල්ල

එවිට දාවිත් පිළිතුරු දෙමින්, "මම සමිඳාණන් වහන්සේට විරුද්ධ ව පව් කෙළෙමි"යි නාතාන්ට කී ය. නාතාන් ද කතා කරමින්, "සමිඳාණන් වහන්සේ ඔබේ පාපයට ක්ෂමාව දුන් සේක; ඔබ නොනසින්නෙහි" ය;

(2 සාමුවෙල් 12:13)

දාවිත් රජ ක්ෂණික ව තම වරද පිළිගෙන "මම සමිඳාණන් වහන්සේට විරුද්ධ ව පව් කෙළෙමි" කීවේ ය. මෙමගින් පෙන්නුම් කරන්නේ දාවිත් රජතුමා තමා කළ වරද වටහා ගෙන මනස්තාප වූ බව ය. ඔහු තම වරදට සමාව අයැදීමට තරම් නිහතමානී විය. දාවිත් කළ වරදට පසුතැවිලි වෙමින් ප්‍රබන්ධ කරන ලද ගීතය ගීතාවලිය 51 වේ. ශුද්ධ බයිබලය පෙරළා එම ගීය කියවා මෙනෙහි කරන්න. අප ද අපගේ පාපවලට මනස්තාප විය යුතු ය. පාපය ජය ගත යුතු ය.

## සලමොන් රජතුමා



10.3 රූපය - සලමොන් රජ ජෙරුසලමේ දේව මන්දිරය ඉදි කිරීම

සලමොන් රජතුමා ඔහුගේ පිය රජ වූ දාවිත් රජතුමාට පසු ව රජ වශයෙන් අභිෂේක කරන ලද්දේ ය. රජකමට පත් මුල් කාලයේ ම සලමොන් රජ ස්වාමීන් වහන්සේට ඉතා අලංකාර දේව මාලිගයක් ජෙරුසලම් නුවර ඉදි කළේ ය.

> සමිඳාණන් වහන්සේ සලමොන්ට කතා කොට, "නුඹ ගොඩනගන මේ ගෘහය ගැන මම මෙය කියමි; නුඹ මගේ නීති අනුව හැසිර, මාගේ නියෝග ඉෂ්ට කර, මාගේ පණත් පවත්වමින්, ඒ ප්‍රකාර හැසිරෙන්නෙහි නම්, නුඹේ පිය වූ දාවිත්ට මා කී මාගේ වචනය නුඹට ඉෂ්ට කරන්නෙමි. තවද, මාගේ සෙනඟ වන ඉශ්රායෙල් අත් නැර ඉශ්රායෙල් ජනයා අතරෙහි වාසය කරන්නෙමි"යි වදාළ සේක. මෙසේ සලමොන් දේව මාලිගාව ගොඩනගා නිම කළේ ය.
>
> (1 රාජාවලිය 6:11-14)

ඉතා විශිෂ්ට නිර්මාණයක් වූ ජෙරුසලම් දේව මන්දිරය සෑදීමට අවුරුදු හතක් ගත විය. වැඩ නිම වූ පසු එතුමා ජයෝත්සවයෙන් දේව මාලිගය දෙවියන් වහන්සේට කැප කළේ ය.

සාවුල්, දාවිත් හා සලමොන් රජවරු ඉශ්රායෙල් රාජ්‍යය එක්සේසත් කළෝ ය. නායකයන් ලෙස ඔවුහු රාජ්‍යය පාලනය කළෝ ය. ප්‍රසාද ස්නාපනය ලැබූ අපත් ආදර්ශවත් නායකයන් ලෙස සැම විට ම කටයුතු කළ යුතු ය. අපෙන් වරදක් වූ විට දාවිත් රජු මෙන් අපගේ වැරදිවලට පසුතැවිලි විය යුතු ය. අපත් පාප ජය ගැනීමට අධිෂ්ඨාන කර ගත යුතු ය.

**ක්‍රියාකාරකම**

1. ඉශ්රායෙල්වරුන්ගේ පළමුවන රජවරුන් **තිදෙනා** නම් කරන්න.
2. ජෙරුසලම් දේව මන්දිරය ගොඩනැගූ රජතුමා කවු ද?
3. දාවිත් රජතුමාගෙන් ඔබට ගත හැකි යහපත් ආදර්ශ **දෙකක්** ලියන්න.

**ජීවිතයට බිඳක්**

★ *ආදර්ශවත් කිතුනු නායකයකු ලෙස කටයුතු කරන්න.*

# 11 දැහැමි දිවිය



11.1 රූපය - හොඳින් පොළොවට මුල් ඇදගත් සරුවට වැඩී ඵල දරන ගසක්

ගසේ මුල් ශක්තිමත් ව පොළොවට ඇදගෙන තිබෙන්නා සේ අප ශක්තිමත් ව මුල් ඇද ගත යුත්තේ වරප්‍රසාදීය ජීවිතය නමැති සරු බිමට ය. යහපත් ජීවිතයක් ගත කරන්නේ නම් පාපය නමැති සතුරාට අප ව විනාශ කිරීමට නොහැකි ය. ගස හොඳින් වැඩී ඵල දරන්නා සේ අප දැහැමි දිවියක් ගත කරන්නේ නම් අපට ලැබෙන වරප්‍රසාද බහුල ව අප තුළ ඵල දරයි. සැමට යහපත ගෙන දෙයි. ගසක අත්තක වර්ධනය වන පිළිලයක් සේ පාපය ද අප විනාශ කරයි. කොපමණ පාඩුවක් වුවත් පාපී අවස්ථා විනාශ කර දැමිය යුතු ය; ඉවත් කළ යුතු ය.

ඕනෑ ම මොහොතක පාපය අප කරා පැමිණිය හැකි ය. එයින් වැළකී ජීවත් වීම සඳහා ශුද්ධ වූ සභා මාතාව එම පාපී අවස්ථා අපට මැනවින් පැහැදිලි කර දෙයි. ඒවා හඳුනා ගනිමු.

## ජන්ම පාපය

ජන්මයේ දී ම ආදිමවුපියන්ගෙන් අප ලබන පාප දෝෂය ජන්ම පාපය වන්නේ ය.

(මහෝපදේශය 209)

ප්‍රසාද ස්නාපනය මගින් ජන්ම පාපය ඉවත් කරනු ලැබේ

## කර්ම පාපය

හොඳ නරක දැනගත් කෙනෙකු විසින් සිතින්, වචනයෙන්, ක්‍රියාවෙන් හෝ අතපසු කිරීමෙන් හෝ දේව පනතක් කඩකිරීම කර්ම පාපයකි.

(මහෝපදේශය 214)

කර්ම පාපය සුළු පාපය හා බරපතළ (මරණීය) පාපය යනුවෙන් දෙවර්ගයකි.

1. සම්පූර්ණ දැන ගැනීම
   වයස අවුරුදු හතට පෙර සිදු කරන වැරදි මරණීය පව් නොව සුළු පව් වේ.

2. සම්පූර්ණ කැමැත්ත
   යම් කිසි පුද්ගලයෙකුගේ බල කිරීමක් නිසා අකමැත්තෙන් කරන වරදක් මරණීය පාපයක් නොවේ. එහෙත් එය වරදකි.

3. බරපතළ කාරණයක දී
   විහිළුවකට කියන බොරුවක් බරපතළ කාරණයක් නොවන නමුදු උසාවියක දී පවසන බොරුවක් බරපතළ කාරණයකට උදාහරණයකි. විහිළුවකට කීවත් බොරු කීම වරදකි. සුළු පාපයකි.

4. දේව පනතක් කඩ කිරීමක්
   පාසලට පමා වී පැමිණීම දේව පනතක් කඩ කිරීමක් නොවන නමුදු ඉරුදින දිව්‍ය පූජාවට නොයාම දේව පනතක් කඩ කිරීමට උදාහරණයකි. එහෙත් එය වරදකි.

| සුළු පාපයෙන් ලබන විපාක | බරපතළ හෙවත් මරණීය පාපයෙන් ලබන විපාක |
|---|---|
| 1. ඉෂ්ට වරප්‍රසාද අහිමි නොවුනත් ආධ්‍යාත්මික ජීවිතය දුර්වල වේ. | 1. දෙවියන් වහන්සේ සමග මිත්‍රත්වය කැඩී යයි. |
| 2. මරණීය පාපයෙන් ජය ගන්නට අප තුළ ඇති ශක්තිය දුර්වල වේ. | 2. අපගේ ආත්මික ජීවිතය මරණයට පත් වේ. |
| 3. මෙලොවෙහි දී හෝ ශුද්ධිකස්ථානයේ දී හෝ තාවකාලික දුක් පීඩා හිමි වේ. | 3. ඉෂ්ට වරප්‍රසාද අහිමි වී නිරය හිමි වේ. |

පාපය සුළු වුව ද එයින් වැළකීමට කටයුතු කළ යුතු ය. උණ රෝගය වැළඳුන විට නොසලකා හැරියොත් එය නිව්මෝනියා තත්ත්වයට පත්විය හැකි ය. එයින් මිය යා හැකි ය. සුළු පාපය ද මරණීය පාපයක් දක්වා වර්ධනය වී ආත්මික ජීවිතය මිය යයි. පාපයක් නික්මෙන්නේ මුල්අගුණ පව් මුල් කර ගෙන ය. මුල්අගුණ පව් යනු අනෙක් බොහෝ පාපයන්ට මුල් වන පව් ය. මුල්අගුණ පාප හතකි. ඒවායින් වැළකීමට වර්ධනය කර ගත යුතු ධර්ම ගුණ ද හතකි.

| මුල්අගුණ පව් | මුල්අගුණ පව් නැති කර ගන්නට දියුණු කර ගත යුතු ධර්ම ගුණ |
|---|---|
| 1. උඩඟුව (තමාගේ උසස්කම ගැන ඇති නිම්හිම් නැති ආලය) | 1. බැහැපත්කම (තමාගේ හැකියා පාරට්ටු කර නොගෙන නිහතමානී වීම) |
| 2. තණ්හාව (ලෞකික වස්තුවටත් මුදලටත් ඇති දැඩි ආලය) | 2. ත්‍යාගිවන්තකම (පරිත්‍යාගශීලී වීම) |
| 3. රාගය (අශුද්ධ දේ කෙරෙහි ඇති ඇල්ම) | 3. බ්‍රහ්මචර්යාව (රාගික හැඟීම්වලින් මිදීම) |
| 4. ක්‍රෝධය (තමාට අප්‍රසන්න වූ යමෙක් කෙරෙහි ඇවිලෙන අධිකතර සිත් වේගය) | 4. ශාන්තිය (සැමට ම යහපත පැතීම) |
| 5. කෑදරය (කෑමටත් බීමටත් ඇති අසංවර ගිජුකම) | 5. මිත්‍යාචාරය (කෑදර වීමෙන් ඉවත් වීම) |
| 6. ඊර්ෂ්‍යාව (අනුන්ගේ යහපත ගැන දුක් වීම) | 6. ප්‍රේමය (අනෙක් අයගේ ජයග්‍රහණවල දී සතුටු වීම) |
| 7. අලසකම (කළයුතු දේ කරන්නට මැළිවීම) | 7. උද්‍යෝගය (කිරීමට ඇති දෙය ප්‍රබෝධවත් ව කිරීම) |

ස්වර්ගයට මොර ගසන පව්වලින් හතරක් පහත දැක්වේ.

1. මිනී මැරීම
2. දුගීන්ට හිංසා කිරීම
3. සේවකයින්ගේ වැටුප් වංචා කිරීම
4. අස්වාභාවික මෛථුනය

එසේ ම ශුද්ධාත්මයාණන් වහන්සේට විරුද්ධ පව් හයකි.

1. තම ගැලවීම ගැන බලාපොරොත්තු කඩ කර ගැනීම.
2. පාප ක්ෂමාව හා යහපත් ක්‍රියාවන්හි පින් හේතු නොමැති ව ගැලවීම බලාපොරොත්තු වීම.
3. ආගමික සත්‍යතා ප්‍රතික්ෂේප කිරීම.
4. අනුන් ලබන දේව වරප්‍රසාද ගැන ඊර්ෂ්‍යා කිරීම.
5. පාපයෙහි ඇලී ගැලී සිටීම.
6. පසුතැවිලි නොවී මරණයට පත්වීම.

(මහෝපදේශය 227)

දේව වරප්‍රසාදය යනු

ජේසු සමිඳුන්ගේ වරප්‍රසාද හේතු නිසා ශුද්ධවන්තකමත් ආත්ම ගැලවීමත් අත්වනු පිණිස අපට ලැබෙන දේව වරමකි.

(මහෝපදේශය 126)

දේව වරප්‍රසාදය ලැබීමෙන්

* කිතුනුවාගේ ජීවිතය නව මගකට පිවිසෙන්නේ ය.
* ඔහු දිව්‍ය ජීවිතයකට හවුල් වන්නේ ය.
* පාපී වූ ජීවිතයෙන් මිදීමට ද කෙලෙස් දමනය කර ගැනීමට ද අනුග්‍රහය ලබන්නේ ය.

දේව වරප්‍රසාද කොටස් දෙකකි.

**දේව වරප්‍රසාද**

**ඉෂ්ට වරප්‍රසාද**

අප ආත්මයන් ශුද්ධවත් කරමින්

* දේව දරුවන් වීමටත්
* සඳ මොක් සැපතට හිමිකරුවන් වීමටත් අපට දෙනු ලබන දේව වරමකි.

(මහෝපදේශය 128)

**අනුග්‍රහ වරප්‍රසාද**

ඒ ඒ අවස්ථාවල දී

* පාපයෙන් වැළකී සිටින්නටත්
* යහපත කරන්නටත් අපට දෙනු ලබන දේව වරමකි.

(මහෝපදේශය 129)

දේව වරප්‍රසාද ලබා ගැනීමට නම් අප විසින් ශුද්ධවන්ත ජීවිතයක් ගත කළ යුතු ය. ශුද්ධවන්ත ජීවිතයක් ගත කිරීමට පාපයෙන් වැළකී සිටිය යුතු ය.

ඒ සඳහා පහත දෑ කළ හැකි ය;

1. යාච්ඤා කිරීම
2. යහපත් ක්‍රියා කිරීම
3. දේව ප්‍රසාද නිධාන ලබා ගැනීම

ශුද්ධවන්ත ජීවිතයක් ගත කිරීමෙන් දේව වරප්‍රසාදීය ජීවිතයක් අත්විඳිය හැකි ය. එම නිසා එවැනි ජීවිතයක් ගත කිරීමට අඛණ්ඩ ව උත්සාහයක යෙදෙන්න. දැහැමි දිවියක් ගත කිරීමට ශුද්ධාත්ම වරම් පැතීමට අමතක නොකරන්න. අන් අය ද දැහැමි දිවියකට යොමු කරන්න.

**ක්‍රියාකාරකම**



1. මුල්අගුණ පව් ජය ගැනීමට ඔබට කළ හැකි එක් කාර්ය බැගින් ලියන්න.



**ජීවිතයට බිඳක්**

*මම නුඹලාගේ වැරදි වලාකුළක් මෙන් ද, නුඹලාගේ පව් මීදුමක් මෙන් ද පහ කර දැමුවෙමි.*
*නුඹලා ගලවන දෙවිඳුන් මා වන බැවින් මා වෙත හැරී එන්න.*

*(යෙසායා 44:22)*

# 12 සිත හැරී මා එනතුරා

## නැති වුණු පුත්‍රයා පිළිබඳ උපමාව



12.1 රූපය - නැති වූ පුත්‍රයා පියා විසින් සිප වැළඳ ගන්නා අවස්ථාව

ශුද්ධ බයිබලය ගෙන ලූක් 15:11-32 කියවන්න.

තම පියාගෙන් ලැබෙන ආදරයට පිටුපා සතුට හා සැපත පැතූ බාල පුතා තමාට අයිති දේපළ කොටස පියාගෙන් ඉල්ලා ගෙන ගියත්, ඒ සියල්ල ටික කලෙකින් අවසන් වෙයි. සියලු මිතුරන් ද සෙවූ සතුට හා සැපත ද අහිමි වෙයි. කෑම පවා නැති ව පාපයේ ප්‍රතිවිපාක අසීමිත ව අත්දකියි. එවිට සිහිවන්නේ තම පියාගේ ආදරය හා කරුණාවයි. පියා ළඟ සිටින සේවකයන් පවා ලබන සතුට හා සැපතයි. ඔහු සිත් හරවා ගනියි.

රජ කුමරෙකු ලෙසින් පියා අත්හැර ගිය පුතා යාචකයෙක් විලසින් නැවත පියා සොයා එයි. ඔහු සිත් හරවා ගෙන එනතෙක් බලා සිටි පියා අසීමිත කරුණාවෙන් ඔහු පිළිගනියි. සමාව දී ඔහුට හොඳ ම සළුව, මුදුව හා පාවහන් පලඳවා නැවත රජ කුමරෙක්ගේ තත්ත්වයට පත් කරයි.

දෙවියන් වහන්සේගේ ආදරය හා කරුණාව මේ උපමා කතාවට අනුව අපට පෙන්වා දෙයි. පාපි තත්ත්වය අවබෝධ කර ගෙන සිත් හරවා ගෙන ආපසු දෙවියන් වහන්සේ වෙතට එන්නාට සමාව ලබන්නට, දේව ආදරයේ සතුට හා සැපත අත් විඳින්නට මේ උපමාව ආරාධනා කරයි.

## නැති වුණු කාසිය පිළිබඳ උපමාව

රිදී කාසි දසයක් ඇති කවර ස්ත්‍රියක හෝ ඉන් එකක් නැති වුවහොත් පහනක් දල්වා ගෙය අතුගා, එය සම්බ වනතුරු අස්සක්, මුල්ලක් නෑර ඕනෑ කමින් සොයන්නේ නැද්ද? එය සම්බ වූ විට ඈ මිතුරන් ද අසල්වැසියන් ද කැඳවා, "මා සමග ප්‍රීති වන්න; මාගේ නැති වූ රිදී කාසිය සම්බ වී ය"යි ඔවුන්ට කියන්නී ය. එලෙස ම පසුතැවී සිත හරවා ගන්නා වූ එක පව්කාරයෙකු ගැන දෙවියන් වහන්සේගේ දූතයන් අතර ප්‍රීතිය ඇති වන්නේ යයි මම ඔබට කියමි.

(ලූක් 15:8-10)

රිදී කාසි දසයක් සතු ස්ත්‍රියක වුවත් ඉන් එකක් හෝ නැති වුවහොත් එය සෙවීමට ඇය දරන වෙහෙසත් සම්බ වූ විට අන් අය සමග සතුටු වන ආකාරයත් මෙම උපමාවෙන් පෙන්වා දෙයි. එලෙස දේව ආදරයේ බල මහිමය තුළ අප අත් නොහරින දෙවි පියාණෝ පාපි මාර්ගය අත හැර සිත් හරවා ගැනීමට අපට ආරාධනා කරන සේක. පසුතැවී සිත් හරවා ගන්නා අය පිළිබඳ ව දෙවියන් වහන්සේ ප්‍රීති වන ආකාරය ද අපට වටහා දෙයි. ඒ නිසා අප වෙනස් වී අන් අය ද යහපත කරා ගෙන යමු.

පාපි මගට වැටී දේව ආදරයෙන් ඈත්වී, පීඩා විඳින්නට ඉඩ නොතබා අප සොයා එන ආදරණීය පියෙකු අපට සිටින බව අපි අදහා ගනිමු.

### පව්කාර ස්ත්‍රිය



12.2 රූපය - පව්කාර ස්ත්‍රියට ජේසුස් වහන්සේගෙන් සමාව ලැබීම

ශුද්ධ වූ ජොහන් තුමාගේ සුවිශේෂයේ 8:1-11 දක්වා හොඳින් කියවන්න. එහි සඳහන් වන්නේ පව්කාර ස්ත්‍රිය පිළිබඳ කතාවයි.

මෝසෙස් තුමාගේ නීතිය අනුව කාමමිථ්‍යාචාරය කළ අය ගල් ගසා මරන්නට නියම විය. එහෙත් ජේසුස් වහන්සේ එවැනි ස්ත්‍රියකට ද සමාව දුන් සේක. එසේ ම ජේසුස් වහන්සේ ඇයට පවසන්නේ "තවත් පව් නොකරන්න" කියා ය.

අප අතින් මෙතෙක් සිදු වූ වැරදි තේරුම් ගෙන ඒවාට මනස්ථාපනය වී නැවත නොකිරීමට ඉටා ගෙන හොඳ පාපෝච්චාරණයක් කර ජේසුස් වහන්සේගෙන් සමාව ලබා ගත යුතු ය.

## ශුද්ධ වූ අගොස්තීනු තුමා



12.3 රූපය - ශුද්ධ වූ අගොස්තීනු තුමා

ශුද්ධ වූ අගොස්තීනු තුමා ක්‍රි.ව. 354 නොවැම්බර් මස 13වන දින උතුරු අප්‍රිකාවේ තගස්තේ නුවර (අද ඇල්ජීරියාව) උපත ලැබී ය. එතුමාගේ පියා පැට්‍රිෂියස් ය. ඔහු අන්‍යාගමිකයෙකි. මව මොනිකා ය. ඇය කතෝලිකයෙකි. ඇය ශුද්ධවන්තියෙකි. ඇය ශුද්ධ මොනිකා තුමිය ලෙස හඳුන්වයි. අගොස්තීනු තුමා දක්ෂ කථිකයෙකි; කථිකාචාර්යවරයෙකි. නරක පුරුදු නිසා නොමඟ ගිය අයෙකි.

ඔහුගේ මව ස්ථිර විශ්වාසයෙන් යුතු ව දෙවියන් වහන්සේට ඔහුගේ සිත් හැරීම සඳහා යාච්ඤා කළා ය. ශුද්ධ වූ අම්බ්‍රෝස් තුමාගේ සහාය ඒ සඳහා පැතුවා ය. දිගු කලක් ඇවෑමෙන්,

- ⋆ මවගේ බලවත් යාච්ඤාවෙන්
- ⋆ ශුද්ධ වූ අම්බ්‍රෝස් තුමාගේ මග පෙන්වීමෙන්

ඔහු තුළ ජීවිත වෙනසක් ඇති විය. මවගේ ඉමහත් ප්‍රීතිය හා දේව ප්‍රශංසාව මධ්‍යයේ වයස අවුරුදු 33 දී පාස්කු ඉරුදින ඔහු ප්‍රසාද ස්නාපනය ලැබුවේ ය. ඒ මොහොතේ සිය මව මෙසේ පැවසුවා ය; "ආදර පුතුනි, මගේ දිවියෙහි තිබුණ එක ම පැතුම ඔබ කිතුනුවකු වනු දකීමයි. මා පැතුවාටත් වඩා සම්ඳාණෝ මට දී ඇත. දෙවියන් වහන්සේට ස්තෝත්‍ර වේවා."

නපුර සෑම මොහොතක ම අප වැරදි මගට යොමු කිරීමට මාන බලමින් සිටියි. අද සමාජයේ ද පාපි තත්ත්වයට ඇද දමන, දුර්පරීක්ෂා අපමණ ය. නවීන තාක්ෂණය ඔස්සේ ද එවැනි තත්ත්ව ඇත. ඒවායින් මිදී අන් අය ද මුදවා ගැනීමට කටයුතු කළ යුතු වෙමු. ඒ සඳහා ශුද්ධාත්ම වරප්‍රසාද පතා යදිමු. ශුද්ධ වූ මොනිකා තුමියගේ ආදර්ශය තුළ කටයුතු කරමු.

### ක්‍රියාකාරකම

1. "සිත හැරී මා එනතුරා ඔබ බලා සිටියා" යන ගීතිකාව ලියා ගෙන පාඩම් කරන්න. ගයන්න.
2. "පව්කරුවාට සමාව ලැබෙයි" යන්න තහවුරු කරන ශුද්ධ බයිබලයේ සඳහන් උපමා **දෙකක්** නම් කරන්න.
3. "සිත් හැරීමෙන් දේව සබඳතාව නැවත ගොඩනගා ගනිමු" මැයෙන් නිසඳැසක් ලියන්න.

**ජීවිතයට බිඳක්**

***කට පාඩම් කරන්න.***

***ජේසුස් වහන්සේ කතා කොට, "පියාණෙනි ඔවුනට කමා වුව මැනව; ඔවුන් කරන දෙය ඔව්හු නොදනි"යි වදාළ සේක.***

(ලූක් 23:34)

# 13 සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය



13.1 රූපය - සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලබා ගන්නා අවස්ථාව

සිහිසන් ඇති ව අවදිව ඉන්න. ඔබගේ විරුද්ධකාරයා වන යක්ෂයා, ගොරවන සිංහයකු මෙන් කවරෙකු ගිල ගනිම් දෝ හෝ යි සොයමින් ඔබ මොබ ඇවිදින්නේ ය. ලොව පුරා සිටින ඔබගේ සහෝදරයන් එම දුක් කරදරවලට ම භාජන වන බව සිහි කර, ඔබගේ ඇදහිල්ලෙහි ස්ථිර ව සිට, යක්ෂයාට විරුද්ධ වන්න. එවිට ක්‍රිස්තුන් වහන්සේ මගින් ස්වකීය සදතන තේජසට ඔබ කැඳවාගත් කල, වරප්‍රසාද දෙන දෙවියන් වහන්සේ ම ඔබ ස්වල්ප කලක් දුක් වින්ද පසු, ඔබ සම්පූර්ණ කර, ස්ථිර, ශක්තිමත් පදනමක් මත පිහිටුවන සේක.

(1 පේදුරු 3:8-10)

මෙම ශුද්ධ වූ ලියවිලි පාඨයට අනුව අපගේ විරුද්ධකාරයා යක්ෂයා බව පෙන්වා දෙයි. එමගින් දුක් කරදර පැමිණෙන බව ද පෙන්වයි. එම විරුද්ධකාරයා පරාජය කළ හැක්කේ ඇදහිල්ලෙහි ස්ථිර ව සිටීමෙන් බව පහද දෙයි. එසේ ඇදහිල්ලේ ස්ථිර ව සිටීමට නම් පාපය බැහැර කළ යුතු ය. ඒ සඳහා "පාපෝච්චාරණය" හෙවත් සමගි සන්ධානය නමැති දේව ප්‍රසාද නිධානය ලබා ගත යුතු වේ.

අප පාප පරීක්ෂාවට හසු වී සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලබා නොගතහොත් ඉෂ්ට වරප්‍රසාද අපට අහිමි වේ. ස්වර්ග රාජ්‍යයට ඇතුළු වීමේ වරම අහිමි වේ.

පාපයට ලැබෙන දඬුවම් දෙවර්ගයකි.

1. සදාකාලික දඬුවම්
2. කාලීන දඬුවම්

පාපයට ලැබෙන දඬුවම් වර්ග දෙක පිළිබඳ වත් දේව දයාව මගින් පව්කරුවාට එම දඬුවම්වලින් නිදහස් විය හැකි ආකාරය පිළිබඳ වත් පහත සඳහන් පාඨය අපට පැහැදිලි කර දෙයි.

බරපතල පාප අප දෙවියන් වහන්සේ සමග විසීමේ භාග්‍යයෙන් ඉවත් කර සදාකාලික ජීවිතය උරුමකර ගැනීමෙන් අප වළක්වයි. සදාකාලික ජීවිතය අහිමි වීම **"සදාකාලික දඬුවම"** ලෙස සැලකෙයි.

අනෙක් අතට සෑම පාපයක් ම, සුළු පාපයක් පවා, මැවිල්ල සමග අයෝග්‍ය වූ බැඳීමක් ඇති කරන නිසා එය මෙලොවේ දී හෝ ශුද්ධිකස්ථානයේ දී හෝ පරිශුද්ධ කළ යුතු ව ඇත. එමගින් "කාලීන දණ්ඩනයෙන්" යමෙකු ව නිදහස් කරයි. ඉහත සඳහන් කළ දෙයාකාර දඬුවම් දෙවියන් වහන්සේ අප වෙත පිටතින් පනවන දඬුවම් නොව පාපයේ ස්වභාවයෙන් ම ඇති කරයි. ජ්වලිත දයාව උපයෝගි කොට ගෙන, හටගන්නා වූ සිත් හැරීම මගින් කිසිදු දඬුවමක් ඉතිරි නොවන ආකාරයට පූර්ණ පරිශුද්ධතාව ළඟා කර ගැනීමට පව්කරුවාට අවස්ථාව සලසා දෙයි.

(කතෝලික සභා ධර්මෝපදේශය 1472)

පමා වී ඇතැ යි සමහරුන් සිතන නමුත්, ස්වාමීන් වහන්සේ සිය පොරොන්දු ඉටු කිරීමට පමා වී නැත. එහෙත්, කිසිවකු විනාශ වීම උන්වහන්සේගේ කැමැත්ත නොවන බැවින්, සියල්ලන්ට පසුතැවී සිත් හරවා ගැනීම සඳහා අවස්ථාවක් ලැබෙනු පිණිස උන්වහන්සේ ඔබ ගැන බොහෝ කල් ඉවසන සේක.

(2 පේදුරු 3:9)

තමා කළ වැරදිවලට සමාව ඉල්ලීමට පමා වීම යෝග්‍ය නැත. මනස්ථාපනය වී පාපිෂ්ඨ බවින් මිදී ජීවත් විය යුතු ය. එවිට සෑම කෙනෙකුට ම ස්වර්ගයට ඇතුළු විය හැකි ය.

ඉහත ශුද්ධ ලියවිලි පාඨය මගින් පෙන්වා දෙන්නේ පාපයෙහි දිවි ගෙවන්නාට පසුතැවීමට ජේසුස් වහන්සේ අවස්ථාව හා කාලය ලබා දෙන බව ය.

## සදාකාලික දඬුවමින් මිදීමට කළ යුතු දේ

සදාකාලික දඬුවමින් මිදීමට ඇති මාර්ගය පාපෝච්චාරණය හෙවත් සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය වේ. මේ පිළිබඳ ව කතෝලික සභා ඉගැන්වීම් විමසා බලමු.

> පාප ක්ෂමාව ලැබීමෙන් හා දෙවියන් වහන්සේ සමග නැවත සමගි සන්ධාන වීම මගින්, කෙනෙකු පාපයේ සදාකාලික දණ්ඩනයෙන් නිදහස් කරනු ලබයි. එනමුදු තවමත් ඔහු පාපයේ කාලීන දණ්ඩනයෙන් බඳිනු ලැබ සිටියි. තමා වෙත පැමිණෙන දුක් වේදනාවන් හා සැම ආකාර පරීක්ෂා ඉවසිලිවන්ත ව දරා ගැනීමෙන් හා මරණ මොහොත ළඟා වූ කල සාන්ත සිතින් එයට මුහුණදීමෙන් ක්‍රිස්තියානිකාරයෙකු මෙම පාපයේ කාලීන දණ්ඩනය වරප්‍රසාදයක් සේ පිළිගැනීමට උත්සුක විය යුතු ය. යාච්ඤාව හා විවිධාකාර පශ්චාත්තාපික ක්‍රියා මෙන් ම ශාරීරික පුණ්‍ය ක්‍රියා හා දයාවේ ක්‍රියා මගින් තමා තුළ වූ "පැරණි මිනිසා" මුළුමනින් ම ඉවත් කොට "නව මිනිසකු" වැළඳ ගැනීමට ඔහු මහත් පරිශ්‍රමයක් දැරිය යුතු ය.
>
> (කතෝලික සභා ධර්මෝපදේශය 1473)

සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය මගින් ස්වර්ග රාජ්‍යයට ඇතුළු වීමට හැකියාව ලැබේ. එය සදාකාලික දණ්ඩනයෙන් නිදහස් වීමයි.

පාපෝච්චාරණය නම් දේව ප්‍රසාද නිධානය ලබා සදාකාලික දඬුවමින් මිදී ස්වර්ග රාජ්‍යයට හිමිකම් කීව ද අප කළ වැරදිවලට වන්දි ගෙවිය යුතු වේ. එම වන්දි ගෙවීම් "කාලීන දඬුවම" ලෙස හැඳින්වේ.

බරපතල පාපයක් සිදු වුවහොත් එකෙණෙහි ම පාපෝච්චාරණය කළ යුතු ය. ඒ පිළිබඳ ව මහෝපදේශයේ මෙසේ සඳහන් වේ.

බරපතළ පාපයක් අප අතින් සිදු වුවහොත් එකෙනෙහි ම ඒ ගැන දෙවිඳුන්ගෙන් කමාව අයැද හැකි පමණ කඩිනමින් පාපෝච්චාරණය කළ යුත්තෙමු. මරණීය පාපයක් නොමැති වුවත් විටින් විට තමන්ගේ සුළු පව් සඳහා පාපෝච්චාරණය කිරීම යෝග්‍ය ය. එමගින් පව් කමාව මෙන් ම පාපයෙන් වැළකී සිටිමට ශක්තිය ද අපි ලබන්නෙමු.

(මහෝපදේශය 234)

**සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය මගින් පාපයට සමාව ලබා ගැනීමට නම්,**

1. හොඳ පාපෝච්චාරණයක් කිරීමට පිහිට පතා යාච්ඤා කරන්න. දේව පනත් හා ශුද්ධ වූ සභාවේ ශික්ෂාපද එකිනෙක ගෙන ඉකුත් පාපෝච්චාරණය කළ දින සිට ඒවා අනුසාර කර ඇත්දැයි ආත්ම සෝදිසියක යෙදෙන්න.
2. දේව ආදරයට පිටුපෑම පිළිබඳ ව අවංක ව කනගාටු වී කළ වැරදි ප්‍රතික්ෂේප කරන්න.
3. යළි කවරදාකවත් ඒවා නොකරන්නට ඉටා ගන්න.
4. කළ පව් එකක්වත් නොසඟවා පියතුමාට කියන්න.
5. පියතුමා දෙන දඬුවම් ඉටු කරන්න.

**පාපෝච්චාරණය කිරීමේ පිළිවෙත**

- ★ ත්‍රිත්වයේ ලකුණ අඳින්න.
- ★ "පියාණෙනී, පව්කාර වූ මට ආශීර්වාද කළ මැනව" යනුවෙන් කියන්න.
- ★ අන්තිමට පාපෝච්චාරණය කළ දිනය පූජාප්‍රසාදිතුමාට කියන්න.
- ★ පසුගිය පාපෝච්චාරණයේ සිට කළ පව් දැන් පැහැදිලි ව ගණන් හා විස්තර ඇති ව කියන්න.
- ★ පව් කීවාට පසු "පියාණෙනී මතක ඇති පව් මෙපමණයි. මේවාටත් මතක නැති පව්වලටත් සමාව හා දඬුවම් දුන මැනව" යනුවෙන් කියන්න.
- ★ පූජාප්‍රසාදිතුමාට සාවධාන ව ඇහුම්කන් දෙන්න. එතුමාගේ අවවාද සහ එතුමා ඔබට නියම කරන දඬුවම සතුටින් පිළිගන්න.
- ★ පූජාප්‍රසාදිතුමා දෙවියන් වහන්සේගේ නාමයෙන් ඔබට සමාව දෙන විට භක්තිවන්ත ලෙස "දයාධික මනස්ථාපය" කියන්න.
- ★ ශුද්ධ වූ ත්‍රිත්වයේ ලකුණු අඳින්න.
- ★ ජේසු පිහිටයි!

පූජාප්‍රසාදිතුමා නියම කරන දඬුවම් හැකි විගස ඉටු කිරීමට අමතක නොකරන්න.

## අන් අය වෙනුවෙන් ඔබේ යුතුකම

සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානයේ අවශ්‍යතාව වටහා ගෙන එම දේව ප්‍රසාද නිධානය අවශ්‍ය වූ සැම විට ම ලබා ගැනීමට යොමු වන්න. අන් අය ද ඒ සඳහා යොමු කරන්න. පාපය නිසා දේව ආදරයෙන් ඈත් වී යාමෙන් සිදු වන විනාශය ඔවුන්ට වටහා දෙන්න. සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය ලබා ගන්නා ආකාරය අමතක නම් කියා දෙන්න. එම දේව ප්‍රසාද නිධානය ලබා ගැනීමට අවස්ථාව ද සොයා යාමට මඟ පෙන්වන්න. එලෙස කාලීන සහ සදකාලීන දඬුවමින් මිදී වරප්‍රසාදීය ජීවිතය ලබා ගැනීමට අන් අය ද යොමු කරන්න.

**ක්‍රියාකාරකම**



1. සදකාලික දඬුවම් හා කාලීන දඬුවම් වෙන වෙන ම පැහැදිලි කරන්න.



**ජීවිතයට බිඳක්**

*මරණීය පාපයක් නොමැති වුවත් විටින් විට සුළු පව් සඳහාත් පාපෝච්චාරණය කරමු. අන් අය ද එයට යොමු කරමු.*

# 14 රෝගීන් ආලේපය



14.1 රූපය - රෝගීන් ආලේප කිරීම

දිව්‍ය වෛද්‍යවරයාණෝ ජේසුස් වහන්සේ බැවින් සුව කිරීමේ පමණක් නොව පව් කමා කිරීමේ බලය ද උන්වහන්සේ සතු ය. එම සුව කිරීමේ බලය අපෝස්තුලුවරුන්ට ද දානය කළ සේක: "රෝගීන් සුව කරන්න" (මතෙව් 10:8) එම බලය පසු කාලයේ දී අපෝස්තුලුවරුන් දියත් කළ ආකාර පහත පාඨය පෙන්වා දෙයි.

> ඔබ අතුරෙන් යමෙක් රෝගී ව සිටින්නේ නම්, ඔහු සභා මූලිකයන් (පූජාප්‍රසාදීන් වහන්සේලා) කැඳවාගනී වා. ඒ මූලිකයෝ ස්වාමීන් වහන්සේගේ නාමයෙන් ඔහු තෙලින් ආලේප කොට, ඔහු උදෙසා යාච්ඤා කරත්වා. එවිට ඇදහිල්ලෙන් පුදන යාච්ඤාවෙන් රෝගියාට සුවය ලැබේ. ස්වාමීන් වහන්සේ ඔහු නැගිටුවනු ඇත. ඔහු පව්කර තිබේ නම්, ඒ පව් ඔහුට කමා කරනු ලැබේ.
>
> (ජාකොබ් 5:14-15)

අපෝස්තුලුවරුන්ගේ ඉගැන්වීම් අනුව රෝගීන් ආලේප කරනු ලබන්නේ පූජාප්‍රසාදීන් වහන්සේලා විසිනි.

රෝගීන්ගේ ආලේපය පිළිබඳ ව මහෝපදේශයේ මෙසේ සඳහන් වේ.

> කෙනෙකු බරපතළ ලෙස රෝගී ව සිටින විට ඔහුට ආධ්‍යාත්මික ශක්තියත්, කායික සුවයත් පතා දනය කරනු ලබන ප්‍රසාද නිධානය රෝගීන්ගේ ආලේපය වන්නේ ය.
>
> මෙය අන්තිම ආලේපය යනුවෙන් ද හැඳින්වේ. වැඩිකොට ම එයට හේතු වූයේ මෙම ආලේපය කෙනෙකු තම ජීවිතයේ අවසාන කොට ලබා ගන්නා ආලේපය වන නිසා ය.
>
> එහෙත් මරණාසන්න වූ විටෙක පමණක් මෙම ප්‍රසාද නිධානය ලැබිය යුතු යැයි පිළිගැනීම වැරදි ය. රෝගීන් සුවපත් කිරීමට ද මෙම දේව ප්‍රසාද නිධානය හේතු වේ.
>
> (මහෝපදේශය 261)

**රෝගීන්ගේ ආලේපය නම් දේව ප්‍රසාද නිධානය ලැබිය හැකි අය;**

* වයස්ගත වී හෝ රෝගී වී හෝ මරණාසන්න තත්ත්වයේ සිටින අය
* බරපතල සැත්කම්වලට සූදනම් කරන අය
* මරණාසන්න නොවූවත් ස්වල්ප කාලයකින් මිය යා හැකි අය

> ක්‍රිස්තු භක්තිකයෙකු බරපතළ ලෙස රෝගාතුර වන සෑම අවස්ථාවක දීත් මෙම දේව ප්‍රසාද නිධානය ලබා තිබිය දී රෝගී තත්ත්වය උත්සන්න වූ විටෙකත් රෝගීන් ආලේප කිරීමේ දේව ප්‍රසාද නිධානය නැවත ලබා ගත හැකි වන්නේ ය.
>
> (කතෝලික සභා ධර්මෝපදේශය 1529)

රෝගීන්ගේ ආලේපය නැවත නැවත ලබා ගත හැකි දේව ප්‍රසාද නිධානයකි.

## රෝගීන්ගේ ආලේපය මගින් ලැබෙන වරප්‍රසාද

රෝගීන් ආලේප කිරීමේ ප්‍රසාද නිධානයේ ප්‍රතිඵල ලෙස ලැබෙන විශේෂ වරප්‍රසාද කතෝලික සභා ධර්මෝපදේශයේ 1532හි මෙලෙස සඳහන් වේ.

- පෞද්ගලික ව තමන්ගේත් මුළු ශුද්ධ වූ සභාවේත් යහපත වෙනුවෙන් රෝගී වූ පුද්ගලයා ක්‍රිස්තුන් වහන්සේගේ දුක්ප්‍රාප්තියට සම්බන්ධ කිරීම.
- රෝගී බවේ හෝ වයස්ගත වීමෙන් හෝ ඇති වන වේදනා ක්‍රිස්තියානි ලීලාවෙන් දරා ගැනීමට අවශ්‍ය ශක්තිය, සාමය හා ධෛර්ය ලැබීම.
- රෝගී තැනැත්තාට පව් කමා කිරීමේ දේව ප්‍රසාද නිධානය මගින් පාප ක්ෂමාව ලබා ගැනීමට අවස්ථාවක් නොතිබුණේ නම් ඔහුගේ පාපවලට ක්ෂමාව ලැබීම.
- ඔහුගේ / ඇයගේ ආත්ම ගැලවීමට ගෝචර වන්නේ නම් සුවය නැවත පිහිටුවීම සදාකාලික ජීවිතය කරා එතෙර වීමට සූදානම් කිරීම.

මෙම වරප්‍රසාද රෝගියාට හිමි කර දීමට රෝගීන්ගේ ආලේපය ලබා දිය යුතු ය. ඒ සඳහා අප පූජාප්‍රසාදීන් වහන්සේ කැඳවා ගත යුතු වේ. පූජාප්‍රසාදීන් වහන්සේ පැමිණීමට පෙර ස්ථානය සහ පුද්ගලයා සූදානම් කිරීම අප සතු යුතුකමකි.

### ස්ථානය සහ පුද්ගලයා සූදානම් කිරීමට කළ යුතු දේ

- ⋆ මේසයක් මත සුදු රෙද්දක් එළා එය මත කුරුස ප්‍රතිමාවක් සහ පහනක් තැබීම.
- ⋆ අත්පිස්නාව, වතුර බේසම, සබන් ආදිය සූදානම් ව තැබීම.
- ⋆ හැකි පමණින් රෝගියා  සහ ස්ථානය පිරිසිදු කිරීම.

රෝගීන්ගේ ආලේපය රෝගීන් සඳහා මිස මරණාසන්න වූවන් සඳහා පමණක් නොවන බව වටහා දී රෝගියා  ශාරීරික ව මෙන් ම මානසික ව ද සූදානම් කළ යුතු ය. මෙම ආලේපය පිළිබඳ ව රෝගියා තුළ චකිතයක් හටගත හැකි නිසා ඒ බිය පහ කළ යුතු ය.

රෝගීන්ගේ ආලේපය දානය කිරීමට ලෙඩෙකු අසාධ්‍ය වන තුරු බලා සිටීම යෝග්‍ය නොවේ.

වෙහෙස නොබලා රෝගීන්ට ඇප උපස්ථාන කළ යුතු වෙමු. රෝගීන් ආලේප කිරීම මගින් වරප්‍රසාද ලැබෙන බව අපි දනිමු. ඒ නිසා අපි ඔවුන් එයට යොමු කරමු. දේව දරුවන් වන අපි අන් අයට මරණ මොහොතට පෙර ඒ සබැඳියාව ඇති ව අවසන් ගමන් යාමට උදව් කරමු. රෝගීන්ගේ ආලේපය සඳහා යොමු කළ යුතු අය හඳුනා ගෙන මීසම් සේවක පූජාප්‍රසාදීන් වහන්සේට ඔවුන් පිළිබඳ ව දැනුවත් කරමු.

## ක්‍රියාකාරකම



1. රෝගීන්ගේ ආලේපය මගින් ලැබෙන වරප්‍රසාද **තුනක්** නම් කරන්න.
2. රෝගීන් වෙනුවෙන් ඔබේ යුතුකමක් ලියන්න.
3. රෝගී පුද්ගලයන් බලන්නට ගොස් කිව හැකි යාච්ඤාවක් ලියන්න.

**ජීවිතයට බිඳක්**

*රෝගීන් වෙනුවෙන් දිනපතා යාච්ඤා කරමු.*

# 15 රෝගීන් ආලේප කිරීමේ පිළිවෙත



15.1 රූපය - රෝගීන් ආලේප කිරීම

රෝගීන් ආලේප කිරීමේ පිළිවෙතට පෙර පූජාප්‍රසාදිතුමා රෝගියාගේ පාපෝච්චාරණය අසයි.

**ආරම්භක පිළිවෙත**

පූජාප්‍රසාදිතුමා ශුද්ධ වූ වස්ත්‍රයෙන් සැරසෙයි. "ස්වාමීන් වහන්සේගේ සමාදානය ඔබ සමග පවතීවා" යනුවෙන් පවසමින් රෝගියාට සහ නිවැසියන්ට ආචාර කරයි. රෝගියාට, එහි සිටින අයට සහ කාමරයට ආසිරි පැන් ඉසිමින් "ඔබ ලැබූ ප්‍රසාද ස්නාපනය මේ ජලය මගින් ඔබට සිහි ගැන්වේවා! තමන් වහන්සේගේ මරණය හා උත්ථානය මගින් අප ගලවා ගත් ක්‍රිස්තුන් වහන්සේ ඔබට සිහි ගැන්වේවා!" යයි පවසයි. ඉන්පසු පූජාප්‍රසාදිතුමා පහත සඳහන් වචනවලින් හෝ ඊට සමාන ලෙස රැස් ව සිටින්නන් අමතයි.

**පූජාප්‍රසාදිතුමා :** දයාබර සහෝදර සහෝදරියෙනි, රෝගාතුරයන් වෙත ජේසුස් ස්වාමීන් වහන්සේ දයා පෑ සැටි ශු. සුවිශේෂයේ සඳහන් වේ. අප වෙනුවෙන් මහත් සේ දුක් විඳි ඔවුන් වහන්සේ ම ඔවුන් වහන්සේගේ නාමයෙන් එක් රැස් වී සිටින අප සමග දැන් මෙහි වැඩ සිටින සේක. ශු. ජාකොබ් අපෝස්තුලුතුමන් මගින් ඔවුන් වහන්සේ අපට මෙසේ අණ කළ සේක. ඔබ අතරින් යමෙක් රෝගී ව සිටිත් නම් සභාවේ පූජාප්‍රසාදිවරුන් කැඳවත්වා! ඔව්හු ස්වාමීන් වහන්සේගේ නාමයෙන් තෛලයෙන් ඔහු ආලේප කර ඔහු උදෙසා යාච්ඤා කරත්වා! එවිට විශ්වාසයෙන් යුත් යාච්ඤාවෙන් රෝගියා සුවපත් වන්නේ ය. ඒ හැර

ස්වාමීන් වහන්සේ ඔහුට සහනය දෙන සේක. ඔහුට පව් ඇත්නම්, ඔහු සමාව ලබන්නේ ය. රෝගාතුර වූ අප සොහොයුරාට ද (සොහොයුරියට ද) ක්‍රිස්තුන් වහන්සේගෙන් සැනසීම හා සුවය ලැබෙන පිණිස ඔහු (ඇය) ඔවුන් වහන්සේගේ වරප්‍රසාදයටත් බලයටත් අප භාර කරමු.

## පශ්චත්තාපික පිළිවෙත

පූජාප්‍රසාදිතුමා : සහෝදරවරුනි, මේ ශුද්ධ වූ පිළිවෙතට සහභාගි වීමට සුදුස්සන් වන පිණිස අපි අපේ පව් සිහිකර ගනිමු.
(මොහොතක් නිශ්ශබ්ද ව සිට)

ස්වාමිනී, ඔබ වහන්සේගේ මරණය හා උත්ථානය මගින් ඔබ අප ගලවා ගත් සේක් වේ ද? ස්වාමිනී කරුණා කළ මැනව.

උත්තරය : ස්වාමිනී, කරුණා කළ මැනව.

පූජාප්‍රසාදිතුමා : ක්‍රිස්තුනි, ඔබ වහන්සේගේ ආශ්චර්යවත් දුක්ඛප්‍රාප්තිය මගින් නව ජීවනයට ඔබ වහන්සේ අප ගෙන යන සේක් වේ ද? ක්‍රිස්තුනි, කරුණා කළ මැනව.

උත්තරය : ක්‍රිස්තුනි, කරුණා කළ මැනව.

පූජාප්‍රසාදිතුමා : ස්වාමීනි, අපගේ දුක් වේදනා මගින් ඔබ වහන්සේගේ දුක්ඛප්‍රාප්තියෙහි හවුල් වීමට ඔබ වහන්සේ අප කැඳවන සේක් වේ ද? ස්වාමීනි, කරුණා කළ මැනව.

උත්තරය : ස්වාමීනි, කරුණා කළ මැනව.

පූජාප්‍රසාදිතුමා : සියලු බලැති දෙවියන් වහන්සේ අපට කරුණා කර අපගේ පව් කමා කර සදා ජීවිතයට අප පමුණුවන සේක්වා!

උත්තරය : ආමෙන්.

## දේව වාක්‍යය කියවීම

මතෙව් 8:5-10, 13 කියවයි.

## විශ්වාසිකයන්ගේ යාච්ඤා

(රෝගියා ද අවට සිටින අය ද ඊට පිළිතුරු දෙති)

පූජාප්‍රසාදිතුමා : සහෝදර සහෝදරියනි, ........... නමැති අප සොහොයුරා (සොහොයුරිය) උදෙසා ස්වාමීන් වහන්සේට බැහැපත් ව අයදිමින් විශ්වාසයෙන් යුතු ව යාච්ඤා කරමු.

පූජාප්‍රසාදීතුමා : මේ රෝගියා වෙත දයාබර ව වැඩම කර ශුද්ධ වූ ආලේපයෙන් ඔහු (ඇය) ශක්තිමත් කරන පිණිස.

උත්තරය : ස්වාමීනි අප කරන යාච්ඤා අසා වදාළ මැනව.

පූජාප්‍රසාදීතුමා : සියලු නපුරෙන් ඔහු (ඇය) මුදාලන පිණිස.

උත්තරය : ස්වාමීනි අප කරන යාච්ඤා අසා වදාළ මැනව.

පූජාප්‍රසාදීතුමා : වේදනා විඳින සියලු රෝගීන් හට සහනය සලසන පිණිස.

උත්තරය : ස්වාමීනි අප කරන යාච්ඤා අසා වදාළ මැනව.

පූජාප්‍රසාදීතුමා : රෝගීන් සුව කිරීම සඳහා වෙහෙසෙන අයට ඔබ වහන්සේ සහාය වනු පිණිස.

උත්තරය : ස්වාමීනි අප කරන යාච්ඤා අසා වදාළ මැනව.

පූජාප්‍රසාදීතුමා : ඔහු (ඇය) සියලු දුර්පරීක්ෂාවලින් හා පාපයෙන් ගලවනු පිණිස.

උත්තරය : ස්වාමීනි අප කරන යාච්ඤා අසා වදාළ මැනව.

පූජාප්‍රසාදීතුමා : ඔබ වහන්සේගේ නාමයෙන් අප අත් තබන ඔහු (ඇය) හට සුවය හා ජීවනය දනය කරන පිණිස.

උත්තරය : ස්වාමීනි අප කරන යාච්ඤා අසා වදාළ මැනව.

(හිස මත අත තැබීම)

පූජාප්‍රසාදීතුමා රෝගියාගේ හිස මත නිශ්ශබ්ද ව අත් තබයි. ඉන් පසු ව රෝගීන් ආලේප කිරීමේ තෛලය සඳහා තුති පිදීමේ යාච්ඤාව කියනු ලැබේ.

පූජාප්‍රසාදීතුමා : මේ රෝගියාගේ සහනය සඳහා ආලේප කිරීමට අපට ශුද්ධ වූ තෛලය දෙවා වදාළ දෙවි ස්වාමීන් වහන්සේට අපි දැන් ස්තුති කරමු.

අප සඳහා ද අපගේ ගැලවීම සඳහා ද ස්වකීය පුත්‍රයාණන් ලොවට එවා වදාළ සියලු බලැති දෙවි පියාණෙනි, ඔබ වහන්සේට සදා ප්‍රශංසා වේවා!

උත්තරය : දෙවියන් වහන්සේට සදා ප්‍රශංසා වේවා!

පූජාප්‍රසාදීතුමා : අප වැනි මිනිසෙකු මෙන් ඉපිද අප අජරාමර බවට පත් කිරීමට කරුණා කළ දේව පුත්‍රයාණෙනි, ඔබ වහන්සේට ප්‍රශංසා වේවා!

**උත්තරය :** දෙවියන් වහන්සේට සඳ ප්‍රශංසා වේවා!

**පූජාප්‍රසාදිතුමා :** අප ශරීරයේ දුර්වලතා ඔබ වහන්සේගේ ආනුභාවයේ ශක්තියෙන් දුරලන ශුද්ධාත්මයාණන් වන දෙවියනි, ඔබ වහන්සේට ප්‍රශංසා වේවා!

**උත්තරය :** දෙවියන් වහන්සේට සඳ ප්‍රශංසා වේවා!

**පූජාප්‍රසාදිතුමා :** ස්වාමීනි, ඔබ වහන්සේ කෙරෙහි විශ්වාසවන්ත ව මේ ශුද්ධ වූ තෛලයෙන් ආලේප කරනු ලබන අපගේ සහෝදරයා (සහෝදරිය) වේදනාවේ දී සහනය ද දුර්වලත්වයේ දී ශක්තිය ද අප ස්වාමීන් වන ක්‍රිස්තුන් වහන්සේ මගින් ලබා ගනීවා!

**උත්තරය :** ආමෙන්.

## ආලේපනය

පූජාප්‍රසාදිතුමා රෝගීන් ආලේප කිරීමේ තෛලය රැගෙන රෝගීයාගේ නළල ද දෑත ද ආලේප කරමින් නියමිත යාච්ඤාව පවසයි.

**පූජාප්‍රසාදිතුමා :** මේ පරිශුද්ධ ආලේපයෙන් ද තමන් වහන්සේගේ දයාබර කරුණාවෙන් ද ස්වාමීන් වහන්සේ ශුද්ධාත්මයාණන් වහන්සේගේ වරම් දෙමින් ඔබට ආධාර කරන සේක්වා!

**උත්තරය :** ආමෙන්.

**පූජාප්‍රසාදිතුමා :** ඔබේ පාපවලින් ඔබ මුදා ගැලවීම දනය කර කරුණාබර ව ඔබ සනසන සේක්වා!

**උත්තරය :** ආමෙන්.
(ඉන් පසු පූජාප්‍රසාදිතුමා රෝගියාගේ තත්ත්වය සලකා ගැලපෙන යාච්ඤාවක් උච්චාරණය කරනු ලබයි. සාමාන්‍ය රෝගියෙකු සඳහා කරනු ලබන යාච්ඤාව මෙසේ ය)

**පූජාප්‍රසාදිතුමා :** යාච්ඤා කරම්හ.
අපගේ ගැලවුම්කාරයාණනි, ශුද්ධාත්මයාණන් වහන්සේගේ වරමින් මේ රෝගියාගේ ආබාධ දුරු කළ මැනව. ඔහුගේ (ඇයගේ) පව් කමා කළ මැනව. සිතේ සහ ගතේ සියලු වේදනා සංසිඳුව මැනව. ආත්මික හා ශාරීරික සම්පූර්ණ සුවය දනය කිරීමට කරුණා කළ මැනව. ඔබ වහන්සේගේ දයාබර කමින් සුව කරනු ලැබ ඔහුගේ (ඇයගේ) වැඩ කටයුතුවල යෙදීමට ඔහුට (ඇයට) හැකි වේවා! සදතනව වැඩ සිටිමින් රජකම් කරන ඔබ වහන්සේ ම මෙය දනය කරන සේක්වා!



**උත්තරය :** ආමෙන්.

## දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ දනය කිරීම

ස්වර්ගයේ වැඩ සිටි යාච්ඤාවෙන් පසු පූජාප්‍රසාදීතුමා දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ඔසවා දක්වමින් "මෙන්න දේවාජබාලකයාණෝ මෙන්න ලොවේ පව් හරින තැනැන් වහන්සේ අජබාලකයාණන්ගේ භෝජනයට කැඳවීම ලද්දෝ භාග්‍යවන්තයෝ ය" යන්න ප්‍රකාශ කළ විට, එයට නියමිත පිළිතුර සියලු දෙනා ලබා දෙයි. රෝගියාට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ දනය කරනු ලබයි. දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගැනීමට අපේක්ෂා කරන අන් අයට ද ලබා ගත හැකි ය.

අනතුරු ව පූජාප්‍රසාදීතුමා පහත යැදුම උච්චාරණය කරයි.

**පූජාප්‍රසාදීතුමා :** යාච්ඤා කරම්හ.
පරිශුද්ධ පියාණෙනි, සියලු බලැති දෙව් ස්වාමීනි, මේ අපගේ සොහොයුරා (සොයුරිය) ලබා ගත් ඔබ වහන්සේගේ පුත්‍රයාණන් හා අපගේ ස්වාමීන් වන ජේසුස් ක්‍රිස්තුන් වහන්සේගේ ශ්‍රී ශරීරය (ශ්‍රී රුධිරය) ඔහුගේ (ඇයගේ) ආත්මික හා ශාරීරික සුවය සඳහා සදතන ඖෂධයක් කළ මැනවයි අපි විශ්වාසයෙන් යුතු ව අයදිමු. මේ කීදේ අප ස්වාමීන් වන ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ උදෙසා ම ලැබේවා!

**උත්තරය :** ආමෙන්.

## ආශීර්වාදය

**පූජාප්‍රසාදීතුමා :** පියාණන් වහන්සේ ද පුත්‍රයාණන් වහන්සේ ද ශුද්ධාත්මයාණන් වහන්සේ ද වන සියලු බලැති දෙවියන් වහන්සේ ඔබ ආශීර්වාද කරන සේක්වා!

**උත්තරය :** ආමෙන්.

රෝගීන්ගේ ආලේපය සඳහා පැමිණෙන පූජාප්‍රසාදීතුමාට සහාය වීම, එතුමා සමග රෝගියා වෙනුවෙන් යාච්ඤා කිරීම හා රෝගියාට ද යාච්ඤාවට සවන් දිය හැකි අයුරින් හඬ නගා යාච්ඤාවේ යෙදීම අපගේ වගකීම් වේ.

මාර්ගෝපකාර දිව්‍ය සත්ප්‍රසාදය පිළිබඳ ව කතෝලික සභා ධර්මෝපදේශයෙහි මෙසේ දක්වයි.

රෝගීන් ආලේප කිරීමේ දේව ප්‍රසාද නිධානයට අමතර ව ශුද්ධ වූ සභාව, මෙලොව අතහැර යාමේ මොහොතකට ළඟා වී සිටින්නන්ට මාර්ගෝපකරණයක් ලෙස දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ද දනය කරන්නී ය. මෙලොව අතහැර "පියාණන් වහන්සේ වෙතට නික්මයාමට සුදනමින් ලබා ගන්නා වූ දිව්‍ය සත්ප්‍රසාද භෝජනය" විශේෂ වැදගත්කමකින් හා අර්ථයකින් යුක්ත ය. ස්වාමීන් වහන්සේගේ වචනවලට අනුව එය සදතන ජීවිතයේ හා උත්ථානයේ බලපරාක්‍රමයේ බීජය වෙයි. "යමෙක් මාගේ මාංශය අනුභව කරන්නේ ද, ඔහුට සදතන ජීවනය ඇත. තව ද මම ඔහු අන්තිම දවසේ දී උත්ථාන කරන්නෙමි."

(කතෝලික සභා ධර්මෝපදේශ 1524)

ප්‍රසාද ස්නාපනය, අභිවෘද්ධි ආලේපය හා දිව්‍ය සත්ප්‍රසාදය, "ආරම්භක දේව ප්‍රසාද නිධාන" නමින් එක් කණ්ඩායමක් ලෙස බැඳෙන්නා සේ සමගි සන්ධානයේ දේව ප්‍රසාද නිධානය, රෝගීන් ආලේප කිරීමේ දේව ප්‍රසාද නිධානය හා මාර්ගෝපකාර දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ක්‍රිස්තියානි ජීවිතය අවසානයේ දී 'ස්වර්ගීය නිවහනට සුදනම් කිරීමේ දේව ප්‍රසාද නිධාන' මෙලොව වන්දනා ගමන සම්පූර්ණත්වයට පත් කරන දේව ප්‍රසාද නිධාන ලෙස හැඳින්විය හැකි ය.

(කතෝලික සභා ධර්මෝපදේශ 1525)

**ක්‍රියාකාරකම**



1. රෝගීන්ගේ ආලේපය දනය කිරීමේ පිළිවෙතේ අනු පිළිවෙත් නම් කරන්න.



**ජීවිතයට බිඳක්**

*රෝගීන්ගේ ආලේපය ලබා දීමට සුදුසු අය සොයා පූජ්‍යප්‍රසාදිතුමාට දැනුම් දීමට උනන්දු වන්න.*

# 16 තම ජීවිත සුරැකීම

"මිනිස් ජීවිතය පූජනීය ය"

"මිනිසා දේව සමානකමට මවා ඇත"

"මිනිස් ජීවිතයට ගරු කරමු"

"මිනිස් ජීවිතය ශුද්ධවන්ත ය"

"අප ශරීර සෞඛ්‍යය ගැන සැලකිලිමත් විය යුතු ය"

"අප ජීවිත මිල කළ නොහැකි ය"

"අප ජීවිත දෙවියන් වහන්සේ සතු ය"

"ජීවිතය සුරකිමු"

"විනාශකාරී දෙයින් ජීවිතය ආරක්ෂා කළ යුතු ය"

"ජීවිතය දෙවියන් වහන්සේ විසින් ම දෙන ලද අමිල දීමනාවකි"

ඉහත පාඨ පිළිබඳ ව මොහොතක් සිතන්න.

ජීවිතය ඉතා ම අගනා වස්තුවකි. එය දෙවියන් වහන්සේගෙන් ලබන තිළිණයකි. සෑම මනුෂ්‍යයෙක් ම දේව කරුණාවෙන් දෙමව්පියන්ට දාව මෙලොව බිහි විය. අපගේ ජීවිතය දෙවියන් වහන්සේ සතු ය.

අද ජීවතුන් අතර සිටින තැනැත්තා
හෙට මිය යයි.
සිය උත්සාහයෙන් ජීවිතය දිගු කර
ගත හැකි පුද්ගලයෙක් මිහිපිට නැත.

මිනිස් ජීවිතය ඉතා පූජනීය ය. මක්නිසාද මිනිසා මැවුම්කරුවාණන් වන දෙවියන් වහන්සේ හා ඒකාබද්ධ ව මැවීමේ කාර්යයට දායක වන නිසා ය. මැවුම්කරුවාණන් සමග විශේෂ බැඳීමකින් සදහට ම පවතින නිසා ය. ආරම්භයේ පටන් අවසානය දක්වා ම මිනිස් ජීවිතයේ ස්වාමියාණෝ දෙවියන් වහන්සේ පමණක් වන සේක. එබැවින් කිසි ම හේතුවක් සඳහාවත් අහිංසක මිනිස් ජීවිත විනාශ කිරීමට කිසිවෙකුට අයිතියක් නැත.

(ක.ස.ධ. 2258)

"අපගේ ජීවිත ශුද්ධාත්මයාණන් වහන්සේගේ මන්දිර වේ." එබැවින් අප ජීවිත ශුද්ධවන්ත වන ආකාරයට ජීවත් වීමට නිතර ම උත්සාහ කළ යුතු ය. සැම විට ම දෙවිඳුන්ට ප්‍රසන්න ආකාරයට ජීවත් වෙමින් තම ශරීර සෞඛ්‍යය ගැන ද සැලකිලිමත් වීම අප සැමගේ යුතුකමකි. මන්ද දේව තිළිණයක් වන අපගේ ජීවිත දෙවියන් වහන්සේ සතු වන බැවිනි.

ජීවිතයත්, ශරීරයත් දෙවියන් වහන්සේගෙන් ම ලද නිසා ඒ සඳහා සාධාරණ සැලකිල්ලක් දැක්වීම අප සැමගේ ම යුතුකමකි.

මත් ද්‍රව්‍ය භාවිතය නිසා මානව සෞඛ්‍යය සහ ජීවිත දරුණු ලෙස විනාශයට පත් කරයි. රෝග නාශක ප්‍රතිකාර වශයෙන් හැර, මෙවැනි දෑ භාවිතය බරපතළ පාපයකි. රහසිගත ව සිදු කරන ගුප්ත නිෂ්පාදන සහ මත්ද්‍රව්‍ය ප්‍රවාහනය ද බීමත් ව රිය පැදවීම ද අවාදර්ශවත් ක්‍රියාවන් ය. මේවා පාපයට සෘජු ව දායක වන අතර සදාචාර නීතියට විරුද්ධ වූ ක්‍රියාවන්ට ජනතාව දිරිමත් කරති.

(ක.ස.ධ. 2291)

මත්පැන් පානය, දුම් පානය යනාදිය හේතුවෙන් ද ශරීර රෝගාතුර වේ. පිළිකා වැනි රෝගවලට මුහුණපාන්නට සිදු වේ.

දෙවි සමිඳුන් අප හට දුන් - තිළිණයකි මේ ජීවිතේ
අප හැකිකම් අප සුරුකම් - පිණිස යොදවමු ජන සේවේ

## සිය දිවි නසා ගැනීම

දෙවියන් වහන්සේ විසින් දානය කරන ලද තම ජීවිතය ගැන ඔවුන් වහන්සේ ඉදිරියේ වගකීම සෑම පුද්ගලයකු මත පැවරේ. ජීවිතයේ අධිපතියාණෝ මහෝත්තම වූ දෙවියන් වහන්සේ ය. ජීවිතය ස්තුති පූර්වක ව පිළිගෙන දෙවියන් වහන්සේගේ මහිමය හා අපගේ ආත්ම ගැලවීම සඳහා ද එය ආරක්ෂා කිරීම අපට පැවරී ඇති ණය යුක්තියකි. දෙවියන් වහන්සේ අප වෙත පවරා ඇති ජීවිතයේ හිමිකරුවෝ අපි නොවෙමු. අපි ගබඩාකරුවන් පමණක් වෙමු. ජීවිතය නැති කිරීමට හෝ එවැන්නක් ගැන සිතීමට හෝ අපට අයිතියක් නැත.

(ක.ස.ධ. 2280)

සිය දිවි හානිකර ගැනීමෙන් පෙන්නුම් කරනුයේ දෙවියන් වහන්සේට අයිති වස්තුවක් අප නතු කර ගැනීමට ගන්නා වූ උත්සාහයකි. එය බරපතළ මරණීය පාපයකි.

ජීවිතේ මට දුන්නු දෙවිතුමනේ
මගේ පණ නල ඔබ අතේ රැඳුනේ
රැක ගන්න සමිඳුනි මා //

ජීවිතය දෙවියන් වහන්සේ අපට දුන් තිළිණයක් නිසා අසනීපයක් සැදුණු විට බෙහෙත් ගැනීම, ශරීර සෞඛ්‍යය පිළිබඳ ව අවධානය යොමු කිරීම යනාදිය අපගේ යුතුකම් වන්නේ ය. අපගේ ආහාර පාන ගැනීමේ දී ද අවධානය යොමු කළ යුතු ය. අහිතකර ආහාර පුරුදු ලෙඩ රෝග ඇති කරයි. අධික ලෙස ලුණු, සීනි හා මේද අධික ආහාර අනුභවය නිසා අධික රුධිර පීඩනය, දියවැඩියාව, හෘදයාබාධ යනාදී රෝග සෑදීම නිසා අකාලයේ මරණයට පත් වේ. දෙවිඳුන් අපට දයාද කළ මේ ජීවිත තෑග්ග අප නිසි ආකාරයෙන් රැක බලා ගත යුතු වේ. ඒ සඳහා කටයුතු කළ යුතු වේ. ශරීරයට ව්‍යායාම අත්‍යවශ්‍යය ය. අපගේ ජීවිතය නිරෝගිමත් ව පවත්වා ගෙන යාමට නිරතුරු ව කටයුතු කිරීමෙන් දෙවියන් වහන්සේගේ තිළිණය ආරක්ෂා කර ගත හැකි වනු ඇත.

**ක්‍රියාකාරකම**

1. "ජීවිතය දෙවියන් වහන්සේ සතු අමිල වස්තුවකි." යන මාතෘකාව යටතේ කතෝලික පුවත් පතකට ලිපියක් සකස් කරන්න.
2. ඔබගේ ජීවිතය සුරැකීමට කළ හැකි කාර්ය **පහක්** ලියන්න.

**ජීවිතයට බිඳක්**

***දෙවිඳුන් දුන් අගනා ජීවිතයට ගරු කරන්න; එය රැක ගන්න.***

# 17 අන් ජීවිත සුරැකීම

පෙම් කරන්න එකිනෙකාට සුහද සොයුරු ප්‍රේමයෙන්
දිවි ගෙවන්න එකමුතු වී සමිඳුන් තුළ සාමයෙන්

ඔබට වඩා අනුන් උතුම් කොට නිරතුරු සලකන්න
උඩඟු නොවී අසල්වැසියනට බුහුමන් දක්වන්න
අලස නොවී සිතට දිරිය ගෙන කටයුතු සපුරන්න
සමිඳු කෙරේ බැතිය පෙරටු කොට සේවය සලසන්න

පෙම් කරන්න එකිනෙකාට .............

සැපතේ හිඳී සිතෙන් උදම් නොව සතුටට පත්වන්න
විපතේ හිඳී නොපසුබටව තව ඉවසිලිමත් වන්න
උදය හවා දෙවිඳු යැදුම නම් අතපසු නොකරන්න
අසරණයන් පිහිට පතන විට පිළිසරණය වන්න

පෙම් කරන්න එකිනෙකාට .............

දුක් පීඩා කරන අය කෙරේ සාමය පතුරන්න
ඔබට පවා වරද කරන විට නපුරක් නොකරන්න
සතුටු සිනා රැලි නැගෙනා විට ඔබ ද සිනාසෙන්න
දුකට වැටී අනුන් පෙළන විට සැබවින් දුක්වන්න

පෙම් කරන්න එකිනෙකාට .............

(කිතුනු ගී 214)

ඉහත ගීතිකාව අවධානයෙන් ගායනා කර ඉන් ඔබට වැටහෙන කරුණු මෙනෙහි කරන්න.

## මිනිස් ජීවිතයට ගරු කිරීම

ආබෙල් බැටළු එඬේරෙක් විය. කායින් ගොවියෙක් විය. කලක් ගත වූ පසු කායින් පොළොවෙන් නිපද වූ අස්වැන්න පඬුරක් වශයෙන් සමිඳාණන් වහන්සේට පූජා කළේ ය. ආබෙල් ද සිය බැටළු රැළේ කුළුදුල් පැටවුන්ගෙන් සමහරෙකු ද ඔවුන්ගේ හොඳ ම කොටස් ද ගෙන සමිඳාණන් වහන්සේට පූජා කළේ ය. සමිඳාණන් වහන්සේ ද ආබෙල්

හා ඔහුගේ පඬුර සතුටින් පිළිගත් සේක. එහෙත්, උන්වහන්සේ කායින් සහ ඔහුගේ පඬුර නොපිළිගත් සේක. එබැවින් කායින් තදින් කිපී දුර්මුඛ විය.

සමිඳාණන් වහන්සේ ද කායින්ට කතා කොට, "නුඹ මෙතරම් කිපී, දුර්මුඛ වී සිටින්නේ මන්ද? නුඹ යහපත කරන්නෙහි නම් නුඹ පිළිගනු ලබන්නෙහි ය; නුඹ අයහපත කරන්නෙහි නම් පාපය රකුසෙකු සේ නුඹේ දොරකඩ ලැග සිටින්නේ ය. ඌ නුඹ මැඩලීමට බලාගෙන සිටියි. එහෙත් නුඹට ඌ දමනය කළ හැකි ය"යි වදාළ සේක.

ඉක්බිති කායින් සිය සොහොයුරු ආබෙල් අමතා, "අපි එළිමහනේ කෙතට යමු"යි කී ය. මෙසේ ඔවුන් ගිය විට කායින් සිය සොහොයුරු ආබෙල්ට විරුද්ධ ව නැගිට ඔහු මරා දැමී ය.

(උත්පත්ති 4:2-8)

ආබෙල් පිදූ පඬුර දෙවියන් වහන්සේට ප්‍රසන්න පඬුරක් විය. එය ප්‍රසන්න වීම හේතුවෙන් දෙවියන් වහන්සේ එම පඬුර පිළිගත් සේක. අප දෙවියන් වහන්සේට පුදන පඬුරු ද උන්වහන්සේට ප්‍රසන්න වීමට නම් හොඳ ම දෙය පූජා කළ යුතු ය. උදාහරණයක් ලෙස, අපේ හොඳ ම කාලය උන්වහන්සේට පූජා කරමින් දිනපතා අවදි වූ විගස යාච්ඤා කිරීමට අමතක නොකළ යුතු ය.

කායින් විසින් දෙවියන් වහන්සේට පුදන ලද පඬුර පිළිනොගැනීම නිසා, කායින් ආබෙල් කෙරෙහි ඊර්ෂ්‍යා සහගත හැඟීමකින් කටයුතු කළේ ය. ඊර්ෂ්‍යාව ඉතා සුළු දෙයක් ලෙස සැලකුවත් මෙම කතා පුවතේ දී එය ජීවිතයක් විනාශ කිරීම දක්වා වර්ධනය විය. කායින් විසින් ආබෙල් වන තම එක ම සහෝදරයා මැරී ය.

ඊර්ෂ්‍යාව මුල්අගුණ පාපයකි. එය මුල්අගුණ පාපයක් ලෙස සලකන්නේ බරපතළ පාපයක් කරා යොමු කරන නිසා ය. එම නිසා ඒවායින් අප වැළකිය යුතු ය. ඊර්ෂ්‍යාව පළිගැනීම කරා යොමු කළ බව කායින් සහ ආබෙල් කතාවෙන් දැක ගත හැකි වේ.

පළිගැනීමෙන් අන් ජීවිතවලට ගරු කිරීමට නොහැකි වේ. එම නිසා පළිගැනීම අප ජීවිත තුළින් අත්හළ යුත්තකි. පළිනොගෙන සැමට ප්‍රේම කළ යුතු බව ජේසුස් වහන්සේ අපට ඉගැන්වූ බව අප සිහිපත් කර එසේ කිරීමට උනන්දු වෙමු.

ඉහත ගීතිකාව අනුව ජීවත් වීමෙන් අන් ජීවිතවලට ගරු කළ හැකි ය.

## ගබ්සා කිරීම




17.1 රූපය - මව් කුසයේ සිටින දරුවෙකු



17.2 රූපය - මෙලොව එළිය දුටු මොහොතක දරුවෙකු

පින්තූර දෙස අවධානයෙන් බලන්න. තමන්ගේ මව දස මසක් කුසේ දරා ගෙන මොලොවට ඔබ බිහි කළ බව සිහිපත් කරන්න. එම නිසා ඔබේ මවට හා පියාට ස්තුති කරන්න. ඔබ මව් කුස පිළිසිඳ ගත් මොහොතේ සිට මේ දක්වා ආරක්ෂා කර රැක බලා ගත්තාටත් ස්තුති කරන්න.

ජීවිතය ආරම්භ වන්නේ මෙලොවට උපත ලැබීමෙන් පසු නොව පිළිසිඳ ගත් මොහොතේ ය. පිළිසිඳ ගත් මොහොතේ පටන් ජීවිතය දෙවියන් වහන්සේට අයිති බව පහත සඳහන් ශුද්ධ ලියවිලි පාඨ මගින් පෙන්වා දෙයි.

මා නුඹ කුසෙහි පිළිසිඳ ගැනීම ඇති කරන්නටත් පෙර පටන් මම නුඹ හඳුනා ගතිමි. නුඹේ උපතටත් පෙර, මම නුඹ කැප කළෙමි.

(ජෙරමියා 1:5)

මාගේ ඇටකටු සෑදෙන විට, මවු කුසෙහි මා වැඩෙන විට, රහසිගත ව මා තැනෙන විට මා එහි වූ බව ඔබ දැන සිටි සේක.

(ගීතාවලිය 139:15)

මව් කුසයේ සිටින ජීවිතය පවා දෙවියන් වහන්සේට අයිති නම් එය විනාශ කිරීමට අපට අයිතියක් නැත. එය සදාචාර විරෝධි ක්‍රියාවකි. කායින් විසින් කළ පාපය ම ගබ්සා කරන්නා විසින් කරනු ලබයි. ඔහු ආබෙල්ටත් වඩා අහිංසක හා අසරණ (ළදරුවකු) පුද්ගලයකු මරා දමයි. ආත්ම ආරක්ෂාව වෙනුවෙන් කටයුතු කළ නොහැකි කෙනෙකු මරා දමයි. මේ පිළිබඳ ව කතෝලික සභා ධර්මෝපදේශය මෙසේ පවසයි.

ගබ්සාව ළදරු ඝාතනයකි. අශික්ෂිත අපරාධයකි.

(ක.ස.ධ. 2271)

## ජීවිත විනාශ නොකිරීම

ගබ්සා නොකළ යුතුවා මෙන් ම කිසි ම ජීවිතයක් විනාශ නොකළ යුතු බව ද ශුද්ධ වූ සභා මාතාව අපට මෙසේ උගන්වන්නී ය.

පස්වන පනතෙන් තහනම් වන කරුණු ශුද්ධ වූ ලියවිල්ල පැහැදිලි කරයි. "අහිංසකයන් හා ධර්මිෂ්ඨයන් ඝාතනය නොකරන්න" සිතාමතා ම අහිංසක පුද්ගලයකු ඝාතනය කිරීම, මානව උදාරත්වයට ද මැවුම්කරුවාණන්ගේ උත්තරීතර බවට හා ස්වර්ණමය වූ නීතියට ද බරපතළ ලෙස එරෙහි වන්නේ ය. මෙම තහනම් නිතීය විශ්වීය ලෙස වලංගු වේ. එය එකිනෙකාට මෙන් සැම දෙනාට ද සැම කල්හි ම, සැම තැන්හි ද පවත්නා වූ නියමයකි.

(ක.ස.ධ. 2261)

අභිසංකයන් පමණක් නොව වරදකරුවන් පවා ඝාතනය නොකළ යුතු බව කායින්ට දෙවියන් වහන්සේ පැවසූ පහත සඳහන් වචනවලින් ද පැහැදිලි වේ.

> "යම් කෙනෙක් කායින් මැරුවොත් ඔහුගෙන් එමෙන් සත් වරක් දරුණු ලෙස පළිගනු ලබන්නේ ය"යි වදාළ සේක. එබැවින් සමිඳුණන් වහන්සේ ද යමෙකුට කායින් මුණ ගැසුණොත් කායින් නොමරන පිණිස ඔහු පිට ලකුණක් තැබූ සේක.
>
> (උත්පත්ති 4:15)

ජේසුස් වහන්සේ කන්ද උඩ දේශනයේ දී ද පස්වන පනත සිහි ගන්වයි.

> මිනී නොමරන්න; මිනි, මරන කවරෙකු වුව ද විනිශ්චයට යටත් වනු ඇතැයි පැරැන්නන්ට කී බව ඔබ අසා ඇත. එහෙත් මම ඔබට කියමි; තමාගේ සහෝදරයා සමග කෝප වන කවරෙකු වුව ද ඔහු අධිකරණයට යටත් වනු ඇත. තමාගේ සහෝදරයාට මෝඩයා කියා ගරහන කවරෙකු වුව ද ඔහු ශ්‍රේෂ්ඨාධිකරණයට යටත් වනු ඇත. "ජඩයා" කියා ගරහන කවරෙකු වුව ද ඔහු නිරා ගින්නට ගොදුරු වනු ඇත.
>
> (මතෙව් 5:21-22)

තමාගේ සහෝදරයා සමග සාමයෙන් ජීවත්විය යුතු බව ජේසුස් වහන්සේ අපට පෙන්වා දෙයි. මෙමගින් අන් අයගේ ජීවිත සුරැකීමට අප සැම බැඳී සිටින බව පෙන්වයි.

කෝපය, ක්‍රෝධය, පළිගැනීම ආදිය ද සහෝදර ප්‍රේමයට විරුද්ධ වේ. පළිනොගත යුතු බව අනෙක් කම්මුල හැරවීමට අවවාද කිරීමෙන් තම ශ්‍රාවකයන්ට ජේසුස් වහන්සේ උගන්වා වදාළ සේක.

දේව දරුවන් හැටියට අපගේ පැවැත්ම ශ්‍රේෂ්ඨ විය යුතු ය. අපි උතුම් දේව පියෙකුගේ දරුවන් හැටියට සහෝදර සහෝදරියන්ට ප්‍රේම කළ යුතු වෙමු. අසල්වැසි ප්‍රේමය අපගේ විශේෂ ලක්ෂණයක් විය යුතු ය. එමගින් අන් අයගේ ජීවිත සුරැකිය යුතු වෙමු. සැම කෙනෙක් ම දෙවියන් වහන්සේගේ සමානකමට මවා ඇති නිසා අපි සැවො ම දේව දරුවෝ වෙමු.

## ක්‍රියාකාරකම

1. අන් අයගේ ජීවිත සුරැකීමට ඔබට කළ හැකි දේවල් **තුනක්** ලියන්න.
2. "ගබ්සාව" පාපයක් වන්නේ කෙසේ දැයි පැහැදිලි කරන්න.

### ජීවිතයට බිඳක්

*සෑම මනුෂ්‍යයෙකු ම දේව මැවිල්ලක් නිසා අපගේ ජීවිත මෙන් ම අන් අයගේ ජීවිත ආරක්ෂා කිරීමට අපි කැපවෙමු.*

# 18 කාමමිථ්‍යාචාරය නොකරව



18.1 රූපය - පව්කාර ස්ත්‍රිය සමාව ලබා ගනියි

දේව ස්වරූපයට මැවූ මනුෂ්‍යයා පාරිශුද්ධ ය. ජීවිතයේ උල්පත හෙවත් ආරම්භය රඳා පවතින්නේ ස්ත්‍රී-පුරුෂ සම්බන්ධතා මත ය. එය ද ශුද්ධ වූ තත්ත්වයක් බව ක්‍රිස්තුන් වහන්සේ පෙන්වා දුන් සේක. එම නිසා කිතු සමිඳුන් ප්‍රථම ප්‍රාතිහාර්යය සිදු කළේ කානා නුවර විවාහ මංගල්‍යයේ දී ය. විවාහ වන අය දෙමාපියන්ගෙන් පවා සමුගෙන එකිනෙකා කෙරෙහි බැඳී එක් මාංශයක් වෙති.

විවාහය දේව ප්‍රසාද නිධානයකි. එයින් උත්තරිතර අරමුණක් සඳහා ස්ත්‍රී-පුරුෂ දෙදෙනා එකිනෙකා කෙරෙහි ප්‍රේමයෙන් කැප වෙන බව කිතු දහමේ ඉගැන්වීමයි. විවාහය කෙළිසෙල්ලමක් නොවේ. එය කාම ආශාවන් මුදුන් පමුණුවා ගැනීමේ චේතනාවෙන් සිදු කරන දෙයක් ලෙස සැලකුවොත් එවිට එය දූෂිත ය. ස්ත්‍රී පුරුෂ සබඳතා විවාහයෙන් බැහැර ව සිදු කරන පුද්ගලයෝ විවාහයේ පාරිශුද්ධභාවය කෙලෙසති.

විවාහය ප්‍රේමයේ උත්තරීතර ඵලයයි. නූතන සමාජයෙහි එය කෙලෙසමින් පැවතෙන නමුත් කිතුනුවා එහි උත්තරීතර බව ආරක්ෂා කිරීමට කැප විය යුතු ය. එම නිසා විවාහයට පෙර හෝ පසු කිසි ම අනිසි සම්බන්ධතාවක් ඇති කර නොගත යුතු ය.

අපගේ වචනයෙන් ද ක්‍රියාවෙන් ද බැල්මෙන් ද අප පිරිසිදු විය යුතු වේ. නරක පත පොත කියවීම, කාමුක චිත්‍ර හා චිත්‍රපට බැලීම එයට බාධා ඇති කරන හෙයින් එවායින් වැළකී සිටිය යුතු ය.

කාමමිථ්‍යාචාරය නොකරන්නැයි කී බව ඔබ අසා ඇත. එහෙත් මම ඔබට කියමි; යමෙකු ස්ත්‍රියක දෙස කාමරාගයෙන් බැලූ කෙණෙහි ම ඔහු ඇය සමග සිතින් කාමමිථ්‍යාචාරය කර ඇත.

(මතෙව් 5:28)

**6වන පනතට විරුද්ධ පාප**

- ★ අසභ්‍ය පොතපත කියවීම
- ★ අසභ්‍ය චිත්‍ර හා චිත්‍රපට නැරඹීම
- ★ බහු භාර්යා හා බහු පුරුෂ සබඳතා
- ★ ස්ත්‍රී දූෂණ
- ★ සම ලිංගික සබඳතා
- ★ බාල අපයෝජන
- ★ පූර්ව ලිංගික සබඳතා

**පාරිශුද්ධ ජීවිතයක් ගත කිරීමට**

- ★ ආත්ම දමනය
- ★ පරාර්ථකාමී මිත්‍රත්වය
- ★ යාච්ඤාව
- ★ ශරීරයට ගරු කිරීම
- ★ ලිංගිකත්වයට ගරු කිරීම
- ★ සක්‍රමේන්තු තුළින් ලබන දේව වරප්‍රසාද අවශ්‍ය වේ

ශරීරය තිබෙන්නේ අනාචාරය පිණිස නොව, ස්වාමින් වහන්සේ උදෙසා බව 1 කොරින්ති ලිපියේ සඳහන් වේ.

ශරීරය අනාචාරය පිණිස නොවේ. එය සමිඳාණන් වහන්සේ උදෙසා ය.

(1 කොරින්ති 6:13)

## ක්‍රියාකාරකම

1. "පිවිතුරු දිවියක් ගත කරමින් ජීවිතයේ පරිශුද්ධතාව සුරකිමු" යන මාතෘකාව යටතේ සඟරාවකට ලිපියක් සකස් කරන්න.
2. හයවන පනතට විරුද්ධ පාප තුනක් ලියා ඉන් වැළකී සිටීමට ඔබ තම මිතුරන්ට දෙන අවවාද **තුනක්** ලියන්න.

**ජීවිතයට බිඳක්**

***සියලු දෙනාට ම සහෝදර ප්‍රේමයෙන් සලකමු; සියල්ලන්ට ගරු කරමු.***

# 19 පරදාල ආලය නොකරව

මිනිසා ආත්මයකින් හා ශරීරයකින් යුක්ත වූ මැවිල්ලකි. එම නිසා මාංශය හා ආත්මය නිරන්තර අරගලයක යෙදෙයි. මෙම කැරලි ගැසීම මිනිසාට පාපයෙන් උරුම වූ දෙයකි. පාපයෙන් මිදීමට ශුද්ධාත්ම වරප්‍රසාද හා බලය අපට අවශ්‍ය ය.

අදහසක් හෝ කල්පනාවක් හෝ සිතේ පහළ වූ පමණින් එය පාපයක් නොවේ. අකමැත්තෙන් එවැන්නක් සිතේ රැඳී තිබුණත් එයින් පාපයක් සිදු නොවේ. අදහසක් හෝ කල්පනාවක් හෝ පාපයක් වන්නේ එය ඕනෑ කමින් පමා කොට එයින් අස්වාදයක් ලබා ගන්නට උත්සාහ කළ විට ය.

> පිරිසිදුකම පවත්වා ගැනීම සඳහා නිහතමානි හැසිරීම අත්‍යවශ්‍ය ය. එය හැඟීම් පාලනය කර ගැනීමේ ගුණාංගයකි. නිහතමානිකම හා සරල තැන්පත්භාවය ඇති අයෙකු සියලු උපද්‍රවවලින් සුරකියි.
>
> (ක.ස.ධ 2521)

පිවිතුරු සිතුවිලිවලින් හෙබි මිනිසා සමාජයට විශාල මෙහෙවරක් කරයි. දෙවියන් වහන්සේගේ හඬට සවන් දෙන පුද්ගලයා තුළ පිරිසිදු චේතනා ගොඩනැගෙයි. පසුතැවීම මඟින් අපවිත්‍ර සිතුවිලි නැතිකර ගත හැකි ය. දේව ආදරය මගින් අපගේ ආකල්ප පිවිතුරු කර ගෙන මිනිස් බවේ අභිමානය සවිමත් කිරීමට කටයුතු කළ යුතු ය.

> නුඹේ අසල්වැසියාගේ භාර්යාවට ඇලුම් නොකරව.
>
> (නික්මයාම 20:17)

කාම තෘෂ්ණාව මිනිස් ආශාවක් සැටියට හැඳින්විය හැකි ය. විවාහ වූ අය සමග අනියම් ප්‍රේම සබඳතා පවත්වා ගෙන යාම නවවන පනතට විරුද්ධ පාපයකි.

නවවන පනතින් අපට උපදෙස් දෙන්නේ විවාහ ජීවිතය තුළ රැක ගත යුතු පිවිතිරියාවට විරුද්ධ සියලු ම ක්‍රියාවන් හා කල්පනාවන්ගෙන් වැළකෙන ලෙස ය.

දාවිත් රජතුමා උරියාගේ බිරිඳ වූ බැත්-ෂෙබා සමග අනියම් සබඳතාවක් ගොඩනඟා ගනිමින් පරදර ආලය කළේ ය. එය දෙවියන් වහන්සේට අප්‍රසන්න ක්‍රියාවක් වූ බැවින් ඔහුට දඬුවම් හිමි විය. හෙරොද් ඇන්ටිපස් තම සහෝදරයාගේ බිරිඳ විවාහ කර ගෙන මෙම පාපය ම කළේ ය. එම වරද පෙන්වා දීමට ස්නාවක ජොහන් තුමා කටයුතු කළේ ය.

**පිවිතුරු දිවියක් ගත කිරීමට අපි**

- අන් අයට ගරු කරමු
- ඔවුන්ගේ අයිතිවාසිකම් සුරකිමු
- අවංක සිතින් තම අසල් වැසියන්ට සංවේදී වෙමු
- පිරිසිදු ජීවිතයක් ගත කරමු
- දෙවිඳුන්ට ප්‍රසන්න දේ පමණක් කරමු
- අපගේ ශරීර ශුද්ධාත්ම මන්දිර මෙන් පවත්වා ගනිමු

> පරදාර සේවනය කරන්නා අනුවණයෙකි. ඔහු තම ජීවිතය නාස්තිකර ගන්නෙකි.
>
> (හිතෝපදේශය 6:32)

වෘත ශුද්ධිය රැක ගැනීම සඳහා දේව රැකවරණය පතා යැදීම කළ යුත්තකි. තම සිත දමනය කර ගැනීමට පුරුදු පුහුණු විය යුතු ය. දේව පනත් ආරක්ෂා කර ගනිමින් එකිනෙකාට ගෞරව කරමින් යහපත් දිවි පෙවෙතක් ගත කිරීමට දායක වෙමු.

**ක්‍රියාකාරකම**



1. පිවිතුරු දිවියක් ගත කිරීමට ඔබට කළ හැකි දේවල් **තුනක්** ලියන්න.
2. සමාජයේ පිවිතුරු බව වර්ධනය කිරීමට යෝජනා **තුනක්** ඉදිරිපත් කරන්න.



**ජීවිතයට බිඳක්**

***දෙවිඳුනි; මා තුළ නිර්මල පිවිතුරු සිතක් ඇති කළ මැනව.***

# 20 පිවිතුරු ජීවිතාදර්ශ




20.1 රූපය - ශුද්ධ වූ මරිය ගොරෙත්ති මුනිතුමිය

## ශුද්ධ වූ මරිය ගොරෙත්ති මුනිතුමිය

මෙතුමිය උපත ලැබුවේ 1890 ඔක්තෝම්බර් මස 16වන දින ය. දෙමාපියන් සමග ඇය ජීවත් වූයේ ඉතාලියේ කොරුනැල්ඩෝ නම් කුඩා නගරයේ ය. ඇයගේ පියා ලුවිජි ගොරෙත්ති වූ අතර, මව අසුන්තා කර්ලිනි වූවා ය. දරුවන් සත් දෙනෙකුගෙන් යුත් මෙම පවුලේ තුන්වැන්නා මරිය ගොරෙත්ති ය.

දිළිඳු වුවත් මේ පවුල වාසනාවෙන් සහ සතුටින් නිතර ම දෙවියන් වහන්සේටත් දේව මෑණියන්ටත් සමීප ව ජීවත් විය. මරිය ගොරෙත්තිට වයස අවුරුදු හයවන විට මුළු පවුල ම පලියානෝ නමැති පෙදෙසට පදිංචියට ගියෝ ය.

පියාගේ මරණින් පසු ව මව සමග ගෙදර වගකීම් භාරගත් මරිය ගොරෙත්ති තුමිය තම සහෝදර සහෝදරියන් සමග දෙවියන් වහන්සේට ප්‍රසන්න ජීවිතයක් ගත කළා ය. දිනක් ඇය නිවසේ තනි ව සිටිය දී එහි පැමිණි ඇලෙස්සැන්ඩ්‍රෝ ඇය හයවන පනතට විරුද්ධ ව පව් කිරීමට පොලොඹවා ගැනීමට උත්සාහ කළ නමුත් ඇය ඊට විරුද්ධ වූ නිසා, ඔහු ඇයට පිහියෙන් ඇන්නේ ය. මරණයට පෙර සිය මෑණියන් ඇමතූ ඇය මෙසේ පැවසුවා යː "අම්මේ, මම පළමු වරට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලැබූ දා ජේසුට පොරොන්දුවක් දුන්නා; ඒ තමයි 'මරණයට පත් වුවත් මම මාගේ දේව ජීවිතය නැති කර ගන්නේ නෑ කියා, ජේසුට දුන් පොරොන්දුව මම ඉටු කළා." ජේසුස් වහන්සේ කුරුස ගසේ සිටිය දී උන්වහන්සේ කුරුසියෙහි ඇණ ගැසූ අයට පවා සමාව දුන්නා සේ මරිය ගොරෙත්ති තුමිය ද මිය යාමට පෙර තමාට පිහියෙන් ඇන්න ඇලෙස්සැන්ඩ්‍රෝට සමාව දුන්නා ය.

මිය යන විට ඇයගේ වයස අවුරුදු දොළහකි. ඈ අද ශුද්ධවන්තියකි. ජූලි මස හයවන දින ශුද්ධ වූ මරිය ගොරෙත්ති මුනිතුමියගේ මංගල්‍යය පැවැත්වේ.

අපිත් මරිය ගොරෙත්ති තුමිය මෙන් චරිතවත් ජීවිතයක් ගත කළ යුතු වෙමු. දෙවි පියාණන් වහන්සේගෙන් ලද දේව ජීවිතය නැති කර නොගෙන උන්වහන්සේට ප්‍රසන්න ව ජීවත් වීමටත්, විශ්වාස පක්ෂ ව සිටින්නටත් පිහිට ඉල්ලා යාච්ඤා කරමු. එසේ සිටීමට අපට පිහිට වන්න කියා ද ශුද්ධ වූ මරිය ගොරෙත්ති මුනිතුමියගේ මධ්‍යස්ථකම ඉල්ලමු.

## ශුද්ධ වූ ඇග්නස් මුනිතුමිය

මෙතුමිය කුඩා කාලයේ සිට ම දෙවියන් වහන්සේ කෙරෙහි ගැඹුරු විශ්වාසයකින් ද මර්යාදාවයෙන් ද යුත් පිරිසිදු ජීවිතයක් ගත කළා ය. අවුරුදු දොළහේ උපන් දිනය සැමරූ එතුමිය තම මාපියන් කැටුව දිව්‍ය පූජාවට ගොස් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගත්තා ය. දිව්‍ය පූජාවෙන් පසු රදගුරුතුමන් පාමුල දණින් වැටී තම මුළු ජීවිත කාලය තුළ දී ම කන්‍යාභාවය රැකගෙන තම ජීවිතය ම ජේසුස් වහන්සේට කැප කළ බව දැන්වූවා ය. එදින ම හවස රෝමානු ආණ්ඩුකාරයාගේ පුත්‍රයා එතුමිය විවාහ කර ගැනීමේ අදහසින් එතුමියට වටිනා තෑග්ගක් එව්වේ ය. එතුමිය එම ත්‍යාගය ප්‍රතික්ෂේප කරමින් මෙසේ කීවා ය: "මම ස්වර්ගීය රාජාණන්ගේ පුතණුවන් වන ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ සමග විවාහ වූවෙමි." මෙය සැලවූ වහා ම රෝමානු ආණ්ඩුකාරයාගේ පුත්‍රයා කිපී එතුමිය සිර භාරයට ගැනීමට නියම කළේ ය. රෝමානු භටයෝ පැමිණ එතුමිය ඇද ගෙන ගොස් සිරගෙයි දැමූහ. එහි දී එතුමියට බොරු දෙවිවරුන්ගේ දේවතා රූපවලට මල් සහ දුම් පිදීමට බල කළෝ ය. ඇග්නස් තුමිය දැඩි අධිෂ්ඨානයෙන් ජේසුස් වහන්සේ වෙත සිත සහ දෑත් ඔසවමින් යාච්ඤාවේ යෙදුණා මිස, ඒ අදමිටුවන්ට කීකරු වූයේ නැත. ආණ්ඩුකාරයාගේ පුතා පැමිණ මේ සියලු වද හිංසාවලින් එතුමිය ගලවන බවට පොරොන්දු වී තමා සමග විවාහ වන ලෙස එතුමියගෙන් නැවත ද ඉල්ලා සිටියේ ය. ඇග්නස් තුමිය පිළිතුරු දෙමින්, "මාගේ ගැලවුම්කාර ජේසුස් ක්‍රිස්තුන් වහන්සේට පමණක් මා අයිති ය"යි කීවා ය. එතුමියගේ වදන් ඇසූ තරුණයා කිපී එතුමිය මරන්නට අණ කළේ ය.



20.2 රූපය - ශුද්ධ වූ ඇග්නස් මුනිතුමිය

මෙම දිරිමත් යෞවන සාන්තුවරිය ඉදිරියේ සිටි සොල්දාදුවා එක් කඩු පහරින් එතුමිය මරා දැමුවේ ය. එතුමිය අන්තිමය දක්වා ම ජේසුස් වහන්සේට විශ්වාසවන්ත ව සිටියා ය.

එතුමියගේ මෘත ශරීරය රෝමයෙන් පිටත එතුමියගේ පවුලේ සොහොනෙහි තැන්පත් කළේ ය. එය දැන් එතුමියගේ නම දරන සොහොන් ගෙයකි.

ජනවාරි 21වන දින ශුද්ධ වූ සභා මාතාව එතුමියගේ මංගල්‍යය පවත්වන්නී ය.

## ශුද්ධ වූ දොමිනික් සාවියෝ මුනිතුමා

මෙතුමා උපත ලැබුවේ 1842 අප්‍රේල් මස 2වන දින උතුරු ඉතාලියේ, රිවා මුරි අල්ඩෝ ග්‍රාමයේ ය. එතුමාගේ පියා චාල්ස් සාවියෝ වන අතර, එතුමාගේ මව බ්‍රිජට් ය. දොමිනික් ළදරු විය තම ගෘහයේ ගත කළේ ය. දෙවියන් වහන්සේගේ මහත් ආලෝකයක් සහ වරප්‍රසාදයක් ලැබීමට භාග්‍ය ලැබුවේ ය.



20.3 රූපය - ශුද්ධ වූ දොමිනික් සාවියෝ මුනිතුමා

අවුරුදු 7 සිට මීසම භාර පියතුමාගෙන් දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබන්ට දෙන ලෙස නිතර නිතර ඉල්ලා සිටි නමුත්, පියතුමා දැන්වූයේ ඔහුට වයස අවුරුදු 12 වනතුරු සිටින ලෙස ය. ඔහුගේ භක්තියත් ආශාවත් දුටු පියතුමා දිනක් ඔහුට මෙසේ කීවේ ය: "මම පාස්කුවට ඔබට ලස්සන තෑග්ගක් දෙන්නට යනවා. එදින මම ඔබට ප්‍රථම වරට දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ මගින් ජේසු දෙනවා" එය දොමිනික් තුමාට ඉතා සතුටුදායක ආරංචියක් විය. දෙමාපියන්ට මෙම ආරංචිය දැන්වී ය. ඉන් පසු සැමදා ම ඉතා භක්තියෙන් ඔහු දිව්‍ය සත්ප්‍රසාද වහන්සේ ලබා ගත්තේ ය.

දොන් බොස්කෝ තුමාගේ ආයතනයට ඇතුළු වූ දොමිනික් තුමා එහි සිටි ළමුන්ට සැබෑ ක්‍රිස්තියානි ජීවිතයක් ගත කිරීමට තම වචනයෙන් සහ ක්‍රියාවෙන් ආදර්ශවත් විය. ඔහු බරපතළ ලෙස රෝගාතුර විය. ඔහු ප්‍රතිකාර ලබා ගැනීම පිණිස දෙමාපියන් වෙත යවන ලදි. තම ගෘහයේ දී නොකඩවා ශුද්ධවන්ත ව යාච්ඤාවේ ජීවිතයක් ගත කළේ ය.

වර්ෂ 1857 මාර්තු මස 9වන දින එතුමා මරණාසන්න ව සිටි අවස්ථාවේ දී අලංකාර දර්ශනයක් දැක, ශබ්ද නගා මෙසේ කීවේ ය: "අහෝ කොතරම් අලංකාර දර්ශනයක් දැන් මට පෙනේ ද?"

දොමිනික් සාවියෝ තුමාගේ කොළ පාට බෙන්තිඤ්ඤය නිසා ගර්භණී මව්වරුන්ට පහසු දරු ප්‍රසූතියට උදව් වූ බව අවස්ථා කීපයකින් ඔප්පු විය. ශුද්ධ වූ දොමිනික් සාවියෝ තුමාගේ මංගල්‍යය මාර්තු මස 10වන දා පැවැත්වේ.

## ක්‍රියාකාරකම



1. "පිවිතුරු ජීවිතාදර්ශය" යන මැයෙන් පුවත් පතකට ලිපියක් සකස් කරන්න.
2. ඔබගේ ජීවිතය ශුද්ධවන්ත ලෙස ගත කරන ආකාර **තුනක්** ලියා දක්වන්න.



**ජීවිතයට බිඳක්**

*අප නිතර ම අන් අයගේ යහපත වෙනුවෙන් කැපවෙමු. ජේසුස් වහන්සේට ආදරය කරමු.*

# 21 ඉල්ලන්නාට දෙනු ලැබේ

**අන්තෝනි බාස් :** අනේ ෆාදර්, මාස තුන හතරක ඉඳලා මට හරි වැඩක් පලක් ලැබුණේ නැහැ. කොහොම ජීවත් වෙන්ඩ ද කියලා මට තේරෙන්නේ නැහැ.

**පියතුමා :** ඔබ භක්තිමත් කතෝලිකයෙක්. දිනපතා දෙවියන් වහන්සේට යාච්ඤා කරන පුද්ගලයෙක්. ඔබ දෙවියන් වහන්සේ කෙරෙහි ලොකු විශ්වාසයක් තියෙන කෙනෙක්. බලාපොරොත්තු නැති කර නොගෙන දෙවි පියාණන් වහන්සේගෙන් ඔබේ අවශ්‍යතාව ඉල්ලා සිටින්න. උන්වහන්සේ ඔබේ ඉල්ලීම ඉටු කරාවි. මමත් කරන්න පුළුවන් උදව්වක් කරන්නම්.
(ගෙදර පැමිණි අන්තෝනි බාස්)

**ආනා මරියා :** මොකද ලොකු ෆාදර් කියන්නේ?

**අන්තෝනි බාස් :** ෆාදර් කියනවා, විශ්වාසය අඩු කර ගන්නේ නැති ව දිගට ම දෙවි පියාණන් වහන්සේට යාච්ඤා කරන්න ලු.

**ආනා මරියා :** ඒක නෙමේ, මට බයිබල් සමාගමේ දේවගැතිවරයෙක් කියනවා, කතෝලික පල්ලියෙන් අයින් වෙලා ඒ ගොල්ලන්ගේ ආගමට එනවා නම් ලක්ෂයක් දෙන්නම් ලු .... ඉතින් මං කිව්වා "අප සේවය කරන්නේ එක ම දෙවියන් වහන්සේට පමණයි. මං බඩගින්නේ මැරුණත් ආගම වෙනස් කරන්නේ නැහැ" කියලා

**අන්තෝනි බාස් :** ආගම විකුණගෙන කන උන් එක්ක ගිහිල්ලා, අපට අපාගත වෙන්න උවමනාවක් නැහැ. අපි දෙවි පියාණන් වහන්සේ ගැන විශ්වාසය තබා ගනිමු. අපි දිගට ම යාච්ඤා කරමු. අපට වරදින එකක් නැහැ.

(දිනක් අන්තෝනි බාස් සොයා ගෙන ප්‍රදේශයේ උපකාරක පන්ති පවත්වන සුමනසිරි මහතා පැමිණියේ ය.)

**සුමනසිරි :** මට ඉක්මනට ඩෙස්ක් පන්සියයකුයි පුටු පන්සියයකුයි හදා ගන්න ඕනෑ. මොරටු මුල්ලේ ඉන්න හොඳ ම වඩු කාර්මිකයා ඔබ බව මම දන්නවා. ඔබට පුළුවන් ද මගේ අවශ්‍යතාව ඉටු කරන්න?

**අන්තෝනි බාස් :** අපොයි මොනවා කතා කරනවා ද? මං ඔබට ඒ වැඩේ වගකීමෙන් ඉක්මනට කරලා දෙන්නම්.

**සුමනසිරි :** හොඳයි, ඔබ මේ වැඩේ හොඳට කරලා දුන්නොත් මං ලක්ෂ පහක් දෙන්නම්. දැන් අත්තිකාරම් විදිහට ලක්ෂ දෙකක් දෙන්නම්, වැඩේ කෙරෙන හැටියට ඉතිරි සල්ලිත් දෙන්නම්. මොකද කියන්නේ?

**අන්තෝනි බාස් :** මං කරලා දෙන්නම් මහත්තයෝ.

(සුමනසිරි මහතා ඒ වෙලේ ම රුපියල් ලක්ෂ දෙකක් අන්තෝනි බාස්ට දුන්නේ ය. එදා ම හවස අන්තෝනි බාස් පියතුමා සොයාගෙන ගොස් මුදලක් පියතුමාගේ අතේ තැබුවේ ය.

**අන්තෝනි බාස් :** මේ මුදල පල්ලියේ වැඩකට ගන්න. මට ලක්ෂ පහක වැඩක් අද ලැබුණා. දෙවි පියාණන් අත් නොහැර විශ්වාසවන්ත ව යාච්ඤා කරපු නිසා මට දරුවන්ගේ අවශ්‍යතා ඉටු කිරීමට වැඩක් ලැබුණා. දෙවි පියාණන්ට ස්තෝත්‍ර වේවා!

## එලියා දිවැසිවරයාගේ යාච්ඤාව

කාර්මෙල් කන්ද මත එලියා දිවැසිවරයා පූජාසනයක් ඉදි කළේ ය. එලියා දිවැසිවරයා හා බාල් දෙවියන්ගේ දිවැසිවරු යාග දෙකක් සූදානම් කළහ. සැබෑ දෙවියන් වහන්සේ ගින්නක් එවා යාගය දැවීමෙන් යාගය බාර ගන්නා බවට පිළිගැනිණි. බාල් දෙවියන්ගේ දිවැසිවරු යාච්ඤා කළත් ඔවුන්ගේ යාගය ගින්නෙන් නොදැවිණි. එලියා දිවැසිවරයා යාගයට ජලය වත් කොට දෙවියන් වහන්සේට මෙසේ යාච්ඤා කළේ ය;

"ආබ්‍රහම්ගේ ද ඊසාක්ගේ ද ඉශ්‍රායෙල්ගේ ද දෙවි සමිඳාණන් වහන්ස, ඔබ ඉශ්‍රායෙල්හි දෙවියන් වහන්සේ බව ද මා ඔබේ සේවකයා බව ද මා මේ දෙය කෙළේ, ඔබේ වචනය ලෙස බව ද අද ඔවුන්ට දැනගන්නට ලැබේවා! සමිඳාණන් වහන්ස මට උත්තර දුන මැනව. ස්වාමීන් වන ඔබ දෙවියන් වහන්සේ බවත්, මේ සෙනඟගේ සිත් නැවත හරවා ගත්තේ ඔබ ම බවත් මොවුන් දැනගන්න පිණිස මට උත්තර දුන මැනව"යි කී ය.

එවිට සමිඳාණන් වහන්සේ වෙතින් ගිනි බැස පූජාවත්, දරත්, ගලුත්, ධූලිත් දවා අගලේ වතුරත් වියළවා දැමී ය.

(1 රාජාවලිය 18:36-38)

මෙම සිදුවීමෙන් සැබෑ දෙවියන් කවුරුන්දැයි ඔප්පු විණි.

කාර්මෙල් කන්ද මත කළ දවන පූජාව අවසාන වීමත් සමග ම නියඟය නිම වී වර්ෂාව ඇති විය. දෙවියන් වහන්සේ කෙරෙහි විශ්වාසය තබන අය උන්වහන්සේ ආරක්ෂා කරන සේක. තව ද ඔවුන්ගේ අවශ්‍යතාවල දී සහාය වන සේක. එබැවින් අප ද එදිනෙදා ජීවිතය

තුළ පැනනගින නොයෙකුත් අසහනකාරී තත්ත්වයන් හමුවේ ස්ථිර ඇදහිල්ලෙන් යුතු ව දෙවියන් වහන්සේට යාච්ඤා කළ යුතු වේ.

## ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා යාච්ඤාව තුළින් වර්ෂාව ලබා දීම



21.1 රූපය - ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා මහනුවර දී යාච්ඤා කිරීම

දෙවන විමලධර්මසූරිය රජ සමයේ දී ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා මහනුවර සිරකරුවෙකු ව සිටියේ ය. එකල පැවති දීර්ඝ නියඟය නිසා මහනුවර හා අවට වැසියෝ මහත්සේ පීඩා වින්දෝ ය. වගා සියල්ල පාළු වූවා පමණක් නොව බීමට පවා ජලය නොමැති විය. මේ සඳහා බෞද්ධ හා අනෙකුත් ආගමික වතාවත් නොකඩා සිදු කළ ද වර්ෂාවක ලකුණක්වත් පහළ නොවී ය. අවසානයේ දී රජතුමා මේ සඳහා ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමාගෙන් සහාය ඉල්ලී ය. ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා රජවාසල ඉදිරිපිට වූ චතුරස්‍රයෙහි අල්තාරයක් සාදා ඒ මත කුරුසියක් තබා ඉමහත් භක්තියෙන් යුතු ව යාච්ඤා කළේ ය. වැඩි වේලාවක් නොගොස් අහස කළු කර මහා වර්ෂාවක් ඇද හැලෙන්නට පටන් ගත් අතර, ඒ වර්ෂාවෙන් එක් ජල බිඳක්වත් ශුද්ධ වූ ජුසේ වාස් මුනිතුමා හා අල්තාරය මත පතිත නොවී ය.

විශ්වාසයෙන් යුතු ව කෙරෙන අයැදීම තුළ ප්‍රාතිහාර්ය සිදු වේ. එබැවින් අප ද විශ්වාසයෙන් යුතු ව දිනපතා යාච්ඤා කිරීමට යොමු විය යුතු ය. යාච්ඤාව තුළින් අප ලබන අත්දැකීම් මත අන් අය ද විශ්වාසයෙන් යුතු ව යාච්ඤා කිරීමට යොමු කිරීම අපගේ යුතුකමකි.

## ක්‍රියාකාරකම



1. එලියා දිවැසිවරයා කාර්මෙල් කන්ද මත කළ යාච්ඤාවෙන් ඔබේ ජීවිතයට ලැබෙන මඟ පෙන්වීම් **දෙකක්** ලියන්න.
2. විශ්වාසයෙන් යුතු ව අයැදීම තුළ ඔබගේ අවශ්‍යතාවක් ඉටු වූ අවස්ථාවක් කෙටියෙන් විස්තර කරන්න.
3. විශ්වාසය හීන මිතුරෙකුට ඔහුගේ ඇදහිල්ල වර්ධනය කර ගැනීමට ඔබ ලබා දෙන උපදෙස් කෙටියන් විස්තර කරන්න.



**ජීවිතයට බිඳක්**

*විශ්වාසයෙන් යුතු ව අවැසිතා දෙවියන් වහන්සේගෙන් ඉල්ලන්න.*

# 22 යහපත් දේ අයදිමු

මෙලොව උත්පත්තිය ලබා ප්‍රසාද ස්නාපනය මගින් කතෝලිකයන් වන සැම කෙනෙකු ම ජීවිත දෙකකට හිමිකම් කියයි. එනම්, ලෞකික ජීවිතය සහ සදාතනික ජීවිතයයි. ලෞකික ජීවිතය කෙටිකාලීන වුවත් සදාතනික ජීවිතය සදාකාලික වේ. සදාතන ජීවිතය අත්කර ගැනීමට ලෞකික ජීවිතය තුළ පින් කුසල් රැස්කර ගත යුතු ය. එදිනෙදා ජීවිතයේ දී මෙන් ම අප යාච්ඤා කරන විට තමාගේ මෙන් ම අන් අයගේ යහපත වෙනුවෙන් යාච්ඤා කිරීමට යොමු විය යුතු ය. ශුද්ධ බයිබලයේ ද යහපත් දේ අයදීම පිළිබඳ ව උගන්වයි.

## සලමොන් රජතුමාගේ යාච්ඤාව


22.1 රූපය - සලමොන් රජතුමා

ගිබියොන්හි දී සමිඳාණන් වහන්සේ රාත්‍රියේ දී ස්වප්නයකින් සලමොන් රජතුමාට දර්ශනය වී, "මා නුඹට දිය යුතු දෙය ඉල්ලන්නැ"යි වදාළ සේක. සලමොන් රජතුමා කතා කොට, මෙසේ ඉල්ලී ය; "ඔබේ මේ සෙනඟ විනිශ්චය කරන පිණිස, හොඳ නරක දැනගන්න පුළුවන් වන ලෙස ඥානවන්ත සිතක් ඔබේ දාසයාට දුන මැනව" (1 රාජාවලිය 3:9). සලමොන් රජතුමා මේ දේ ඉල්ලූ නිසා දෙවියන් වහන්සේ ඊට ප්‍රසන්න වූ සේක. තියුණු නැණ නුවණ ද ධනය ද ගෞරවය ද සලමොන් රජතුමාට ලැබෙන බව දැන්වූ සේක.

අයහපතින් යහපත හඳුනා ගැනීමේ වරම ද තමන්ට ගැළපෙන දේ තෝරා ගැනීමට ශක්තිය ද දානය කරන ලෙස දෙවියන් වහන්සේගෙන් ඉල්ලා යාච්ඤා කිරීම වැදගත් වන බව මෙයින් සනාථ කරයි. එසේ ම දෙවියන් වහන්සේගෙන් ඈත් ව හුදකලා වූ විට දුර්විපාක අත්වන බව ද මතක් කර දෙයි. මිනිසෙකු පාපයෙන් ඈත් වන විට ඔහුගේ අවැසිතා සියල්ල දෙවියන් වහන්සේ ලබා දෙන බව මෙයින් අපට උගන්වයි.

"ඉල්ලන්න, ඔබට දෙනු ලැබේ; සොයන්න, ඔබට සම්බ වේ; තට්ටු කරන්න, ඔබට දොර අරිනු ලැබේ. මන්ද, ඉල්ලන්නාට ලැබේ; සොයන්නාට සම්බ වේ; තට්ටු කරන්නාට දොර අරිනු ලැබේ. ඔබ අතරින් කවර මනුෂ්‍යයෙක් හෝ තමාගේ පුත්‍රයා පාන් ගෙඩියක් ඉල්ලුවොත්, ඔහුට ගල් ගෙඩියක් දෙයි ද? මාළුවෙකු ඉල්ලුවොත්, සර්පයෙකු දෙයි ද? මෙසේ අයහපත් ඔබ, ඔබේ දරුවන්ට යහපත් දේ දෙන්න දන්නහු නම්, ස්වර්ගයෙහි සිටින, ඔබේ පියාණන් වහන්සේ තමන්ගෙන් ඉල්ලන්නන්ට යහපත් දේ ඊටත් වැඩියෙන් නොදෙන සේක් ද?"

(මතෙව් 7:7-11)

යහපත දෙස බැලිය යුත්තේ භෞතික ව නොව ආධ්‍යාත්මික ව ය. ඔබේ ජීවිතය අර්ථවත් වන්නේ ඔබ අනෙක් අය සඳහා ජීවත් වුවහොත් පමණකි. අනුන් සඳහා ජීවත් වීමටත්, අනුන් සතුටු කිරීමටත් උදාර පෞරුෂයක් ගොඩනගා ගත යුතු ය. යහපත තුළින් සිදු විය යුත්තේ දෙවියන් වහන්සේ වෙත තව තවත් ළං වීමයි. පුද්ගලයෙක් භෞතික සැප සම්පත් තුළින් යහපත දෙස බලන්නේ නම් ඇතැම් විට ඔහු විනාශය කරා ගමන් කළ හැකි ය. එනම්, භෞතික සම්පත් ලැබීම තුළ දෙවියන් වහන්සේගෙන් ඈත්වීමට ඉඩ ඇත. මේ නිසා යහපත් දේ කුමක් ද යන්න තීරණය කරන්නේ දෙවියන් වහන්සේ ය.

**ක්‍රියාකාරකම**

1. දෙවියන් වහන්සේට අයදින අයට යහපත් දේ දනය කරන බව සනාථ කිරීමට වදළ උපමා **දෙකක්** ලියන්න.
2. සලමොන් රජතුමා දෙවියන් වහන්සේට කළ යාච්ඤාවෙන් ඔබගේ ජීවිතයට ගත හැකි ආදර්ශ **දෙකක්** ලියන්න.
3. "අප කොපමණ යහපත් දේ ඉල්ලා යාච්ඤා කළත් දෙවියන් වහන්සේ එම ඉල්ලීම් අපට ඉටුකර දෙන්නේ නැත" යනුවෙන් පවසන ඔබේ මිතුරෙකු ධෛර්යමත් කරමින් මිතුරා නැවත යාච්ඤාව වෙත නැඹුරු කර ගන්නා අයුරු වචන 50කින් පමණ විස්තර කරන්න.

**ජීවිතයට බිඳක්**

***සෑම විට ම යහපත් දේ වෙනුවෙන් පමණක් දෙව්දුන් යදින්න.***

# 23 උදාන ගී



23.1 රූපය - දේව මාතාවෝ

නමෝ මරියනි.... නමෝ මරියනි
නමෝ මරියනි ප්‍රසාද පූර්ණ වන්තිනි

දේව පුත්‍රයා ස්ප්‍රීතු සාන්තු වරමිනා....//
පිළිසිඳීය දෙව් බෙලෙන්
ශ්‍රී ඔබේ කුසේ....//

කීර්ති පෑ ශ්‍රීයා සාමදනයේ පියා....//
සාරසේ දිලි සිරිත්
ශ්‍රී ඔබේ කුසේ....//

i. මෙම ගීතිකාවේ දී ගායනා කරන්නේ කුමන සිද්ධියක් සම්බන්ධයෙන් ද?

ii. මෙම ගීතිකාවෙන් ප්‍රකාශ වන්නේ මොනවා ද?

දෙවියන් වහන්සේගෙන් ලත් විපුල වරප්‍රසාද හමුවේ විවිධ පුද්ගලයන් උන්වහන්සේට ප්‍රශංසා කරමින් ගායනා කළ ගීතිකා තුනක් නව ගිවිසුමේ දක්නට ලැබේ.

## 1. මරිය තුමියගේ උදාන ගීය (ලූක් 1:46-55)

මරිය තුමිය විසින් එලිසබෙත් තුමිය බැහැදැකීමට ගොස් සෙකරියස් තුමාගේ ගෙට ඇතුළු වී එලිසබෙත් තුමිය හට ආචාර කළ විට ඇයගේ කුසෙහි දරුවා ඉපිලෙන්නට විය. එවිට එලිසබෙත් තුමිය ශුද්ධාත්මයාණන් වහන්සේගෙන් පූර්ණ ව මරිය තුමියට ප්‍රශංසා කළ විට මරිය තුමිය මෙසේ උදන් ඇනුවා ය;

> මාගේ හද සමිඳුන් උසස් ලෙස පසසයි,
> මාගේ සිත මා මිදුම්කාර දෙවිඳුන් ගැන උදන් අනයි;
> මක්නිසාද, එතුමාණෝ සිය දාසියගේ දීනතාව
> කුළුණු පාමින් සලකා වදාළ සේක.
> හැම පරපුරක් ම මෙතැන් සිට, භාග්‍යවන්තී ය'යි මට කියනු ඇත.
> පරාක්‍රමයාණෝ මා උදෙසා මහත් දේ කළ සේක.
> "පරිශුද්ධයාණෝ" යනු එතුමන්ගේ නාමය ය.

එතුමන්ගේ දයාව සිය බැතිමතුන් කෙරේ, පරපුරෙන් පරපුරට පැතිරේ.
සිය බාහුවෙන් එතුමාණෝ විකුම් පා, උඩඟු උදම් සිතැත්තන් විසුරුවා හැර,
මහ නරපතීන් සිය සිහසුන්වලින් පහත හෙළා,
දීනයන් ඉහළ නංවා උසස් කළ සේක. සාගිනි වූවන් යහපත් දෙයින් සතප්වා,
ධනවතුන් හිස් අතින් හරවා යැවූ සේක.
අප පියවරුන් වූ ආබ්‍රහම්ට හා එම පරපුරට,
සදහට ම පොරොන්දු වූ දයාව සිහි කරමින්
සිය සෙනඟ හට, පිහිට වූ සේක.

(ලූක් 1:46-55)

## 2. සෙකරියස් තුමාගේ ප්‍රශංසා ගීතය (ලූක් 1:68-79)

ගොළු ව සිටි සෙකරියස් තුමා ස්නාවක ජුවාම් තුමාගේ උත්පත්තියෙන් දින 8කට පසු කථා ශක්තිය ලැබ දෙවියන් වහන්සේට ප්‍රශංසා කරමින් මෙසේ පැවසී ය.

ඉශ්රායෙල්හි දෙවි සමිඳාණන්, සිය සෙනඟ වෙත බලා කරුණාවෙන්,
විමුක්තිය සලසා දුන් බැවින්, එතුමන් හට තුති පැසසුම් වේ වා!
සිය දාසයා වූ දාවිත්ගේ වංශයෙන් අප හට, බලවත් මිදුම්කාරයෙකු එතුමාණෝ එවූ සේක....
එසේ වූයේ, පෙර ශුද්ධ දිවැසිවරුන්ගේ මුවින් පැවසූ ලෙස ය.
රුපුන්ගෙන් හා අපට වෛර බැන්දවුන්ගෙන්,
අප මුදලන පිණිස, එතුමාණෝ එය කළ සේක;
මෙසේ, අප පියවරුන්ට කළ දයා පොරොන්දුව ඉටු කර,
සිය ශුද්ධ ගිවිසුම සිහි කළ සේක. එය අප පිය ආබ්‍රහම්ට
එතුමන් දිවුළ දිවුරුම ය.
මෙසේ කළේ, අප සතුරන්ගෙන් මිදීම ලබමින්,
නොබිය ව එතුමන්ගේ සේවයේ යෙදෙමින්,
එතුමන් අබිමුවෙහි බැතියෙන් හා දැහැමින්, දිවි ඇති තෙක් විසීමට ය.
ළදරුව, ඔබ සමිඳුන්ට පෙරටුව යමින්, එතුමන් මඟ පිළියෙළ කරන බැවින්,
මෙහෙසුරු දිවැසිවර යන නම ඔබට දෙනු ඇත.
එතුමන්ගේ සෙනඟට පව් කමාවෙන් ලැබෙන ගැළවීම,
ඔබ ඔවුන්ට දන්වන්නෙහි ය. අප දෙවිඳුණෝ මෘදු ය, දයාවන්ත ය.
අප කෙරෙහි අහසින් ළහිරු රැස් උදා කරවන සේක.
අඳුරේ හා මරණ සෙවණේ සිටින්නවුන් කෙරෙහි,
එලෙසින් එළිය උදා කරවමින් සෙත් මඟ යාමට අපට මඟපෙන්වන සේක.

(ලූක් 1:68-79)

## 3. සිමියොන් තුමාගේ ප්‍රශංසා ගීතය (ලූක් 2:29-32)

ළදරු ජේසුස් වහන්සේ පිළිබඳ ව ව්‍යවස්ථාවෙහි සඳහන් වත්පිළිවෙත් ඉටු කරනු වස්, දෙමවුපියන් උන්වහන්සේ දේව මාලිගාවට ගෙනා විට, සිමියොන් තුමා උන්වහන්සේ දෝතින් වඩාගෙන මෙසේ දෙවියන් වහන්සේට ප්‍රශංසා කළේ ය;

> සමිඳුනි, ඔබ පොරොන්දු වූ ලෙස ම
> දැන් ඔබ දාසයා හට,
> ශාන්ති සිතින් යාමට
> ඔබ නිදහස දී ඇත,
> මන්ද,
> ගැළවීම මාගේ දෙනෙතින් දිටිමි. එය සකල ජාතීන් අබිමුව කළ ගැළවීම ද විජාතීන්ට එළිය දෙන ආලෝක ද ඔබේ සෙනඟ වන ඉශ්රායෙල්වරුන්ගේ මහිමය ද වේ.
>
> (ලූක් 2:29-32)

කිතුනු අප ද දිනපතා යාච්ඤාව තුළ දෙවියන් වහන්සේට ප්‍රශංසා කිරීමට යොමු විය යුතු ය.

**ක්‍රියාකාරකම**



1. ශුද්ධ බයිබලයේ නව ගිවිසුම තුළ දක්නට ලැබෙන උදාන ගී තුනක් නම් කරන්න.
2. මරියාවන්ගේ උදාන ගීතයෙන් අවධාරණය කරන්නේ කුමක් ද?
3. "ප්‍රීතිමත් අවස්ථාවන්හි දී දෙවියන් වහන්සේට ප්‍රශංසා කළ යුතු ය" යන ප්‍රකාශයට ඔබ කොතෙක් දුරට එකඟ වන්නේ දැයි කෙටියෙන් පැහැදිලි කරන්න.

**ජීවිතයට බිඳක්**

*ඔබගේ ජීවිතයේ ප්‍රීතිමත් අවස්ථාවල දී දෙවියන් වහන්සේට ප්‍රශංසා කරන්න.*

# 24 යාච්ඤාවේ ප්‍රභේද



24.1 රූපය - දෙවි පියාණන් වහන්සේට යාච්ඤා කරයි

යාච්ඤාව යනු මිනිස් ආයාචනා දෙවි පියාණන් වහන්සේ වෙතටත්, දේව කැමැත්ත මිනිසා විසින් වටහා ගන්නටත් යොමු වන සංවාදයකි. යාච්ඤාව මගින් දෙවියන් වහන්සේ හා ගැඹුරු දේව සබඳතාවක් ගොඩනගා ගත හැකි ය. ක්‍රිස්තියානි යැදුම් සම්ප්‍රදාය තුළ යාච්ඤාවේ ප්‍රභේද තුනකි.

## 1. වාචික යැදුම

වචන යොදා ගනිමින් ශබ්දනගා හෝ සිතින් හෝ කරන යැදුම් මෙයට අයත් වේ.

උදා :- අසීසියේ ෆ්‍රැන්සිස් මුනිතුමාගේ යාච්ඤාව, පරමණ්ඩල යාච්ඤාව

අපගේ යාච්ඤාවලට ඇහුම්කන් දුන්නා ද, නැද්ද, යන්න තීරණය වන්නේ අප මුමුණන වචන ප්‍රමාණය අනුව නොව, අපගේ ආත්මවල ඇති බලවත් ලැදිකම මතයි. වාචික යාච්ඤාව ක්‍රිස්තියානි ජීවිතයේ ඉතා වැදගත් අංශයක් වෙයි. ජේසුස් වහන්සේ තම ශ්‍රාවකයන්ට "පරමණ්ඩලය" නමැති වාචික යාච්ඤාව ඉගැන් වූ සේක. වාචික යැදුම කණ්ඩායම්වලට ඉතා පහසුවෙන් ම භාවිතා කළ හැකි යාච්ඤා ක්‍රමයක් වෙයි.

(ක.ස.ධ. 2700-2704)

## 2. භාවනාව

භාවනාව යනු සොයා යාමකි. මෙම සොයා යාමේ දී කරුණු දෙකක් පිළිබඳ ව විමසිලිමත් වේ.

1. කිතුනු ජීවිතයේ පරමාර්ථය
2. කිතුනු ජීවිතය ගත කළ යුතු ආකාරය

මෙහි දී සොයා බලන්නේ, දෙවියන් වහන්සේ අප එක් එක්කෙනාගේ අපේක්ෂා කරන දෙය හඳුනාගෙන එයට ප්‍රතිචාර දැක්වීමට ය.

> අප කියවන දේ ගැන භාවනා කිරීම මඟින්, ඒවා අපගේ ම ජීවිතයේ කොටසක් කර ගැනීමට හැකිවෙයි. අපි බැහැපත් හා සත්‍යවාදී වන තරමට, භාවනාව මඟින් අපට අපගේ හෘදය කළඹවන සිද්ධීන් දැනගැනීමට ද, ඒවා නිසියාකාර ලෙස අවබෝධ කර ගැනීමට ද, හැකිවනු ඇත. භාවනා ක්‍රමය මාර්ගෝපදේශයකයකු පමණකි; වැදගත් වන්නේ, ශුද්ධාත්මයාණන් සමග එක ම යාච්ඤා ක්‍රමයක් ඔස්සේ ඉදිරියට යාමයි. මෙම ක්‍රමය නම්, ජේසුස් ක්‍රිස්තුන් වහන්සේ ය. ශුද්ධ වූ සභාවේ තිල යැදුම් හා ජපමාලය උච්චාරණය කිරීමේ දී මෙන්, ක්‍රිස්තියානි යාච්ඤාවේ දීත්, සියල්ලට ම වැඩියෙන් ක්‍රිස්තුන් වහන්සේගේ අභිරහස් භාවනා කිරීමට උත්සාහ දැරිය යුතු ය.
>
> (ක.ස.ධ. 2705-2708)

### 3. ධ්‍යානයට සමවැදීම (ධ්‍යානාත්මක යාච්ඤාව)

ධ්‍යානයට සමවැදීම, භාවනාවේ උසස් තලයකට පැමිණි අයට පමණක් කළ හැකි ය. වාචික යාච්ඤාව ධ්‍යානයට සමවැදීමේ මුල් පියවර වේ.

ශාන්ත තෙරේසා තුමිය ඒ ගැන මෙසේ පවසන්නීය; "මගේ අදහසට අනුව ධ්‍යානයට සම වැදීම යනු අන් කවරක්වත් නොව, කිට්ටු මිතුරන් අතර අදහස් හුවමාරු කර ගැනීමයි. එනම්, අපට ප්‍රේම කරන බව අප දන්නා තැනැන් වහන්සේ සමග, නිරතුරු ව ම හුදකලා ව සිටීමට කාලය යොදා ගැනීමයි."

ධ්‍යානාත්මක යාච්ඤාවට ඇතුළු වීම දිව්‍ය සත්ප්‍රසාදීය දේව වන්දනාවට ඇතුළු වීම වැනි ය. අපි අපගේ සිතුවිලි ඒකරාශී කරගන්නෙමු. ශුද්ධාත්මයාණන්ගේ පෙලඹවීම මත අපි මුළුමනින් මෙනෙහි කිරීමක් කරා යොමු වන්නෙමු. අපගේ හෘද අපට ප්‍රේම කරන තැනැන් වහන්සේ වෙත නැවත හැරී ඒමට අපි සලස්වන්නෙමු.

> ධ්‍යානය යනු ජේසුස් වහන්සේ වෙත යොමු කළ විශ්වාසයේ බැල්මකි. දෙවියන් වහන්සේගේ වචනයට අවධානය යොමු කිරීමකි, නිහඬ ප්‍රේමයකි. ක්‍රිස්තුන් වහන්සේගේ අභිරහසට අප සහභාගී වන ප්‍රමාණයට උන්වහන්සේගේ යාච්ඤාවට සැබෑ ලෙස ඒකාබද්ධ වීමක් ද වේ.
>
> (ක.ස.ධ. 2709-2719)

කිතුනු අපගේ ආධ්‍යාත්මික ජීවිතයේ වර්ධනයට යාච්ඤාවේ විවිධ ප්‍රභේද ඉවහල් වේ. ඒ කෙරෙහි අප නිවැරදි ව යොමු වීම වැදගත් වේ. ආධ්‍යාත්මික සුවය ලබන්නට මීසම තුළ සංවිධානය කරන යාච්ඤා මෙහෙයන් සංවිධාන කටයුතුවල දී සහාය දැක්වීමට ඉදිරිපත් විය යුතු ය.

## අසීසියේ ශුද්ධ වූ ෆ්‍රැන්සිස් මුනිතුමාගේ යාච්ඤාව



24.2 රූපය - අසීසියේ ශුද්ධ වූ ෆ්‍රැන්සිස් මුනිතුමා

ස්වාමීනි, මා ඔබගේ සාමයේ අවියක් කළ මැනව. වෛරයෙන් පිරුණු තැනට ප්‍රේමය ද අසමගියේ තුවාලයන්ට ශාන්තිය ද අවිශ්වාසයෙන් යුත් තැනට විශ්වාසය ද බලාපොරොත්තු සුන් වූ තැනට බලාපොරොත්තුව ද ශෝකය වටලා ගත් තැනට ප්‍රීතිය ද අඳුරින් වැසී ගිය තැනට ආලෝකය ද ගෙනයාමට මට වරම් දුන මැනව. සැනසීම ලැබීමට වඩා සැනසීම දීමට ද තේරුම් ගනු ලැබීමට වඩා තේරුම් ගැනීමට ද ප්‍රේමය ලැබීමට වඩා ප්‍රේම කිරීමට ද මා යොමු කළ මැනව. මක්නිසාද යත් දීමෙන් අපට ලැබීමත් සමාව දීමෙන් සමාවත් මරණයෙන් අපට සදා ජීවිතයත් අත්වන නිසා ය.

**ක්‍රියාකාරකම**

1. ක්‍රිස්තියානි සම්ප්‍රදාය තුළ ඇති යාච්ඤාවේ ප්‍රභේද **දෙකක්** නම් කරන්න.
2. වාචික යාච්ඤාව මගින් අවධාරණය කරන්නේ කුමක් ද?
3. භාවනාත්මක යාච්ඤාවෙන් සිදුවන කාර්ය **දෙකක්** ලියන්න.
4. කිතුනුවන්ගේ ආධ්‍යාත්මික ජීවිතයේ වර්ධනයට යාච්ඤාවේ විවිධ ප්‍රභේද ඉවහල් වන අන්දම කෙටියෙන් පැහැදිලි කරන්න.

**ජීවිතයට බිඳක්**

*ඔබේ මීසමේ සංවිධානය කරන යාච්ඤා මෙහෙයවලට සහභාගී වන්න.*

# 25 අසිපා

"අසිපා" (AsIPA) යනු "ආසියාතික ඒකාග්‍ර පෝෂණ සේවා යොමුව" වේ. (Asian Intergral Pastoral Approach)

## ඉතිහාසය හා පසුබිම

ක්‍රි.ව. 1990 වසරේ, ආසියාතික රදගුරුවරුන් 400 දෙනෙකු පමණ සහභාගීත්වයෙන් ඉන්දුනීසියාවේ බැංඩුන් නුවර පැවති පස්වන ආසියාතික රදගුරු සමුළුවේ දී බිහි විය. ආසියාතික රටවල රදගුරුතුමන්ලාගේ සාංඝිකත්වයේ (සාමූහික යාච්ඤාවේ) හා ගැඹුරු භාවනාත්මක මෙනෙහි කිරීමේ ප්‍රතිඵලයක් ලෙස "අසිපා" ජනිත විය.

ආසියාවේ කතෝලික සභාව තුළ  උදාසීන කිතුනුවන් අවදි කිරීමටත් ගිහි නායකත්වයට නිසි තැන දෙන්නටත් කිතුනු සංඝ තුළ දේව වචනය කියවීම තුළ ක්‍රියාත්මක වීමටත් අවශ්‍ය බව හඳුනා ගැනිණි.

මීසම් තුළ කිතුනු ඒකක පිහිටුවීමෙන් මේ කාර්ය වඩාත් හොඳින් කළ හැකි බව අනාවරණය විය. ඒ නිසා දේව වචනය මත පදනම් වූ ක්‍රියාශීලි කුඩා කිතුනු සංඝ පිහිටු විය.

කුඩා කිතුනු සංඝ තුළ සුපුවත බෙදා ගැනීම පියවර සතකින් සිදු කරනු ලැබේ. එබැවින් එය සත් පියවර ලෙස හඳුන්වයි.

## ස්ථානය සූදානම් කිරීම

- අසිපා ක්‍රියාකාරකම කිරීමට සුදුසු ස්ථානයක් තෝරා ගන්න.
- එම ස්ථානයේ මේසයක් හෝ ටීපෝවක් හෝ තබා එය මතට සුදු රෙද්දක් දමන්න.
- මේසය මත ශුද්ධ බයිබලය පෙරළා සිංහාසනාරූඪ කරන්න.
 (දේව වාක්‍යාසනයේ තබන ආකාරයට)
- ශුද්ධ බයිබලය ඉදිරියෙන් පොල්තෙල් පහනක් තබා එය දල්වන්න.
- කුඩා කණ්ඩායමක් ලෙස රවුමට අසුන් ගන්න.

## සත් පියවර

**පළමුවන පියවර : අපි ස්වාමීන් වහන්සේට ආරාධනා කරමු.**

යාච්ඤාශීලි ව ශුද්ධ ලියවිල්ලේ අවස්ථා සිහිපත් කරමින් රැස්වූ අය අතරට ජේසුස් ක්‍රිස්තුන් වහන්සේට වඩින ලෙස කෙටි යාච්ඤාවකින් ඇරයුම් කිරීමට කිහිප දෙනෙකුට ආරාධනා කිරීම

නිදසුන් :
- එදා මාර්තා හා මරියාගේ නිවසට වැඩියා සේ මේ මොහොතේ අප අතරට වඩින්න.
- සකේවුස්ගේ නිවසට වැඩියා සේ අප අතරට වඩින්න.
- මාර්ගය ද සත්‍යය ද ජීවනය ද වන බව පැවසූ ජේසු ස්වාමීනි, අප අතරට වැඩිය මැනව.

**දෙවන පියවර : අපි දූන් ශුද්ධ ලියවිලි පාඨය කියවමු.**

- ශුද්ධවර .... තුමන්ගේ සුවිශේෂයේ ..... වෙනි පරිච්ඡේදය පෙරළා ගන්න. (මෙය දෙවරක් පවසන්න.
- එම පරිච්ඡේදයේ .... වගන්තියේ සිට ..... වගන්තිය දක්වා පෙරළා ගන්න.
- අදාළ බයිබල් පාඨය දෙවරක් හෝ තෙවරක් දෙදෙනෙකුට හෝ තිදෙනෙකුට කියවීමට ආරාධනා කරන්න.

**තෙවන පියවර : සිතට කාවැදුණු වචනය හෝ වාක්‍යය තුන්වරක් උච්චාරණය කරමු.**

ශ්‍රවණය කළ ශුද්ධ ලියවිලි පාඨයෙන් තම සිතට තදින් ම කා වැදුණ වචනය හෝ වාක්‍යාංශය තම කණ්ඩායමට ඇසෙන පරිදි තෙවරක් උච්චාරණය කිරීමට ආරාධනා කරන්න.

**සිව්වන පියවර :** **නිශ්ශබ්දතාව තුළ එකිනෙකාට කතා කරන්නට ස්වාමීන් වහන්සේට ඉඩ හරිමු.**

- විනාඩි තුනක් නිශ්ශබ්ද ව මෙනෙහි කරමින් ස්වාමීන් වහන්සේට කතා කරන්නට අවස්ථාව ලබා දෙන්න.

**පස්වන පියවර :** **තමන්ට ලැබුණු පණිවිඩය බෙදා ගන්න.**

- තමන් තෝරා ගත් වචනයට අදාළ ව තමන් ලත් අත්දැකීම් කණ්ඩායමට ඉදිරිපත් කරන්නට කැමති කිහිප දෙනෙකුට ඇරයුම් කරන්න.

**හයවන පියවර :** **කිතුනු ඒකකයට ඇති වැඩ කොටස් ගැන සාකච්ඡා කිරීම.**

- ඉදිරි සතිය තුළ තව කෙනෙකුගේ අවශ්‍යතා හමුවේ කළ හැකි ක්‍රියාකාරකම් කිහිපයක් පිළිබඳ යෝජනා ඉදිරිපත් කිරීමට අවස්ථාව දෙන්න.
- ඉන් අත්‍යවශ්‍ය එක් කටයුත්තක් කණ්ඩායම සාකච්ඡා කර ක්‍රියාවට නංවන්නට පියවර ගැනීමට තීන්දු කරන්න.

**හත්වන පියවර :** **අප හෘදයාංගම ලෙස යාච්ඤා කරමු.**

- මේ මොහොතේ අප සමග සිටි ස්වාමීන් වහන්සේට තුති පුද දෙන්නට කිහිප දෙනෙකුට ඇරයුම් කරන්න. (මෙහි දී විශ්වාසකයින්ගේ යැදුම් ලෙස මෙම යාච්ඤා ඔප්පු කළ හැකි ය)

**ක්‍රියාකාරකම**



1. "අසිපා" යන්නෙහි අර්ථය කුමක් ද?
2. "අසිපා" ආරම්භ කළේ කවදා ද? කුමන ස්ථානයේ දී ද?
3. "අසිපා" ආරම්භ කළේ කුමක් සඳහා ද?



**ජීවිතයට බිඳක්**

***ඔබේ පාසලේ අසිපා රැස්වීමක් සංවිධානය කරන්න.***



- මෙම පොතෙහි අන්තර්ගත රූප සටහන් අන්තර්ජාලය ඇසුරෙනි.